සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

13 වෙනි කලාපය

ශ්‍රී බු. ව. 2556ක් වූ ඉල් මස (ව්‍යවහාරික වර්ෂ 2012 නොවැම්බර්)

## මහා බලගතු බුද්ධ බල යන්ත්‍ර 4ක් !



සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පෝහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය

# දෙව් ලොව නොදුටු දුක



සැප මිස දුක නැතැයි කියනා දෙව් ලොව ද
උපනොත් විඳින දුක නොපෙනෙයි අප හට ද
තැපගෙන කප් ගණන් විඳීතත් දෙව් සැප ද
නොපතනු දෙව් ලොවක් මතු අත් බවයක ද



සුර ලොව සුරඟනන් පිරිවර රැඟුම් බලා
තර කර ගන්න අන් දෙව් සැප සුසුම් හෙළා
විරසක වෙලා නොලැබෙන විට කඳුළු සලා
පර සිත හඳුනනා දෙවියොත් වෙනව මුළා

බඩගිනි එනව අමයුරු තිබුණත් කන්න
මැඩගෙන හිටියොතින් සිදු වෙයි චුත වෙන්න
හඬ එන විටදී තමනට ඉහළින් ඉන්න
හැඩ වැඩ දෙවියො දැක සිදු වෙයි ලතැවෙන්න



කෙළවර වන විටදි ආයුස දෙව් බවක
ගලනව කඳුළු හඬමින් දෙවියොත් එවක
මළ ගිය විටදි ඇඳුනොත් එල පෙර පවක
උලනට වෙනව තණ කොළ තිරිසන් ලොවක

කයට වෙහෙස හින්දයි අසුනක් ඇත්තේ
බයට දුවයි ඉහළින් එන අණ මත්තේ
ළයට දැනෙන දුක අඩු නැත ඒ පැත්තේ
හයට මෙදෙව් ලොව තිර කිසිවක් නැත්තේ



මිනිසයි කවද හරි දෙව් ලොව දෙව් වන්නේ
පිණිසයි එලය විඳවනු දෙව් බව එන්නේ
අනිසියි දෙව් සැපද කිම ලබනට යන්නේ
එනිසයි මුනිඳු එහි වැඩ සදහම් දුන්නේ

පබැඳුම - නිශ්ශංක චන්දන සිරිවර්ධන

# භාෂා නිරුක්ති සමග පටලවා නොගත යුතු පද නිරුක්ති

*(පසුගිය කලාපයෙන් -
පද නිරුක්ති සැඟව යෑමෙන් පසු
වැසී ගිය සත්‍යය, යථාර්ථය නැවතත්)*



පටිසම්භිදා මග්ග ප්‍රකරණයේ 200 පිටුවේ එන ඛන්තිඥාන මාතෘකාව යටතේ ජරා, මරණ, අනිච්චයි කියල විස්තර කරනවා (සං.නි.2, 42 පිටුව - පච්චය සූත්‍රය). නමුත් මේක අනිත්‍ය කියලයි අද තෝරන්නේ. දැන් මෙහෙම අදහස ගත්තම ජරා, මරණ ස්ථිර නෑ කියලයි අදහස එන්නේ. නමුත් ජරාව, මරණය කියන මේවා ස්ථිරයි කියන කාරණය අපිට වැටහෙනවා. ඒ කියන්නේ ඒක හැම වස්තුවකටම සිද්ධ වෙනවා. මරණය කියන එක හැමෝටම පොදුයි (ජීවිතං අනියතං මරණං නියතං). එහෙනම් ධර්මයේ වැරැද්දක් නෙවෙයි මේ වෙලා තියෙන්නෙ, පද නිරුක්ති නොදන්නාකමින් දීපු අර්ථයයි වැරදිලා තියෙන්නේ. අනිච්ච කියන වචනයට අර්ථ දෙන්න ගිහින්, අනිත්‍ය හෙවත් ස්ථිර නෑ කියන අදහස ගත්තා. නමුත් විග්‍රහ කරන්න ගියාම මහා පඹගාලක පැටලෙනවා. ඊට පස්සෙ මිනිස්සු ප්‍රශ්න අහන කොට රටේ ලෝකෙ නැති වැල්වටාරම් කියල මග හරින්න වෙනවා, තම තමන්ගේ මතයන් කාවද්දන්න යනවා. නමුත් පද නිරුක්තිය අනුව මෙතන අනිච්චයි කියල පෙන්නුවේ අනිත්‍ය කියන එක නෙවෙයි. ඉච්ඡ කියන්නේ කැමැත්ත. කැමති සේ නැති දේ නිසි නෑ. ඒවා අනිසියි. අනිච්ච කියන්නේ කැමැති සේ නොපවතින දේ අනිසියි කියන එකයි. ඉච්ඡා භංගත්වයට පත් වුණයි කියල අදත් අපි අතර භාවිතා වෙන්නෙ යමක් කැමැත්ත පරිදි සිද්ධ නොවූ විටයි. එහෙනම් ජරා, මරණ, අනිච්චයි කියල පෙන්නුවේ ඒවා අපේ කැමැත්ත පරිදි සිදු නොවෙන නිසා අනිසියි කියන එකයි. උදාහරණයක් විදිහට අපේ ළඟම හිතවතෙක් ජරාවට පත්වෙලා මරණයට පත් වෙනවා දකින්න අපි කැමති නෑ. නමුත් ඒක එහෙම වෙනවා. හැබැයි වෙන්නෙ අපේ කැමැත්තට පටහැනිවයි. එතකොට දුක එනවා. ඒ වගේම අපේ පරම හතුරෙක් විනාශවෙලා මැරිල යනවා දකින්න අපි කැමතියි. නමුත් අපි කැමති වුණාට ඒක එහෙම වෙන්නෙ නෑ. ඒ මිනිහා අපට තවත් හතුරුකම් කරමින් යහතින් ජීවත් වෙනවා. ඒකත් අපේ කැමැත්තට පටහැනියි. ඉතින් එතකොටත් දුක එනවා.

දැන් මේ අනිච්ච නිසා දුකයි කියන කාරණය ධම්මචක්කප්පවත්තන සූත්‍රයෙත්, සච්චවිභංග සූත්‍රයෙත් පැහැදිලිව පෙන්වා තියෙනවා. ඒ නිසා මේ කියන කාරණාවල කිසිම දහම් විරෝධී බවක් නෑ. දහමට ගැළපෙනවා. මේ හැම තැනකම පෙන්වල තියෙන්නේ යමක් කැමති සේ නොපවතී නම් ඒක දුකයි කියලයි. එහෙම නැතිව අනිත්‍ය නිසා දුකයි කියල කොතනකවත් පෙන්වල නෑ. නමුත් පාලි පෙළ දහම සිංහලට පෙරළන්න ගිහින් පද නිරුක්ති නොදන්නාකමින් අනිච්ච කියන එකට අනිත්‍යයි කියල අර්ථ දීල තියෙනවා. ඒක තමයි මේ පටලවාගෙන දඟලන්නේ.

ඊළඟට අනත්ත කියන වචනයට අනාත්ම කියන අර්ථයක් දීලා ආත්ම වාදයක් එක්ක පටලවාගෙන තියෙනවා. නමුත් මෙතන අනත්ත කිව්වේ අනර්ථ සහිත නිසා මමත්වයෙන් ගන්න සුදුසු දෙයක් නෑ කියන එකයි. අනර්ථ සහිත නම් ඒකෙ සැරිසරන්න ගියොත් අනාථ වෙනවා. එහෙම නම් මේ කියන සූත්‍ර දෙකෙන් එදා මගඵල ලැබුවයි කියල පෙන්වනවා. ඒ ලබල තියෙන්නේ අනිච්ච, දුක්ඛ, අනත්ත කියන ත්‍රිලක්ෂණය දැකල මිසක් අනිත්‍ය, දුක්ඛ, අනාත්ම දැකල නෙවෙයි. කැමති සේ නෑ, ඒ නිසා දුකයි, ඒ නිසා අසාරයි කියන එකයි ත්‍රිලක්ෂණයෙන් පෙන්වන්නේ. මේ විදිහට දහම් අවබෝධය ලබනවා මිසක් භාෂා තර්කවාදවලින් නිවන් දකින්න බෑ.

තවත් විශේෂයෙන් කිව යුත්තක් තියෙනවා. යමෙලු සහ තෙකුල කියන ත්‍රිවේද පර ප්‍රාප්ත බමුණන් දෙන්නා සසුනේ පැවිදි වෙලා, බුදු වදන් සංස්කෘත භාෂාවට නගන්න හේතු ඉදිරිපත් කරමින්, ඒ සඳහා අවසර ඉල්ලා සිටි විට බුදුන් වහන්සේ ඊට අපහාස කරල බුද්ධ වචනය සංස්කෘත වාචනා මාර්ගයට නැගීම දුකුලා ඇවැතක් ලෙස පෙන්වා තහනම් කර, සකාය නිරුක්තියෙන් හෙවත් ස්වකීය ව්‍යවහාරයෙන් ධර්මය පිරිවහන්නැයි දේශනා කරල තියෙද්දිත්, සිංහල වචන ලෙස සිහලුන් රවටමින් හෙළ වචන යටපත් කර අනිත්‍ය, අනාත්ම යන සංස්කෘත වචන ඒ වෙනුවට ආදේශ කිරීමේ අපරාධය දැන් හොඳට පෙනී

යනවා.

අනිච්ච යන්න අනිස හෙවත් අනිසි යන අරුතින් හෙළ බසට නැගූ තෙරුන් වහන්සේලාත් පැහැදිලිව පෙන්වා තියෙද්දිත් සංස්කෘත උගතුන් මේ විපරීතය කරල තියෙනවා. **අනිසි යන හෙළ වදන ඉච්ඡ සේ නැති බව හඟවන්නයි එදා යොදා ගෙන තිබුණේ. ඒ නිසා අනිසි දේ දුකයි කියන කාරණය පෙර කාලයේ හොඳට ගැළපිලා තිබුණා. ස්ථිර නැති යමකින් යමෙකුට දුක් විඳින්න වෙනව නම්, ඒ හේතුවෙන් වෙන යහපතකුත් නැත්නම් ඒවත් අනිසියි. ඒ නිසා අනිසි යන පදයට අවැඩ සහගත වූ හරයක් නැති සියලු කටයුතු ගෝචර වෙනවා. මේ කාරණය විමසා බැලීම නැණවතුන් සතුයි.**

**අනිච්ච කියන වචනය අකුරු හතරක (බැඳි අකුරු අනුව තුනක) පුංචි වචනයක් වුණත් මේකෙන් පෙන්වන දහම් අර්ථය මහා ගැඹුරුයි. නමුත් මේ වචනය සිංහලට පෙරළන්න ගිහින් අනිත්‍ය හෙවත් ස්ථිර නෑ කියන අර්ථයක් දීලා, පහසුවෙන් තේරුම් ගන්න තිබුණු නිවන් මග වැහිල ගිය එකයි සිද්ධ වුණේ.** උපන් දා පටන් මැරෙන තුරු අපි කාටත් මුහුණ දෙන්න සිද්ධ වෙන කැමැති සේ නොපවතින දහම් ස්වභාවය කියන එකයි අනිසි හෙවත් අනිච්ච කියන වචනයෙන් පෙන්නුම් කරන්නේ. ඒ බව මීට පෙර විග්‍රහ කළා.

දැන් සමහර භාෂා තර්කවාදීන් තවත් අමුතුම තර්කයක් ඉදිරිපත් කරනවා. අනිච්ඡ කියන්නේ කැමැති සේ නොපවතිනවා කියන අර්ථය වුණත්, අගට දන්තජ ''ච'' යන්න යොදා ලියන අනිච්ච කියන වචනයෙන් අදහස් කරන්නේ අනිත්‍ය හෙවත් ස්ථිර නෑ කියන අර්ථයලු. දැන් මේ කෙස් පැළෙන තර්කය ප්‍රායෝගිකව ඔප්පු කරන්න බැරි නිසා පොතේ තියෙන භාෂා නිරුක්තියක් අරගෙන තමයි මේ කතාව කියන්නේ. හොඳයි ඔය කියන තර්කවාදියෙකුට යම්කිසි වෙලාවක කවුරු හරි බිම දාගෙන හොඳටම ගුටි බැට දුන්න කියල අපි හිතමු. දැන් අපි ඔහු ළඟට ගිහින් ඇහුවොත් ඔබට දැන් දුකක් ද සැපක් ද ගුටි කෑම නිසා ඇති වුණේ කියල, කතා දෙකක් නැතිව දුකයි කියල ඔහු උත්තර දෙනවා. මේ දුක ඇතිවුණේ තමන් කැමැති සේ නොපවතින ස්වභාවය නිසා කියල ඔහු පිළිගන්නව නම්, දැන් අපි ඔහුගෙන් ඇහුවොත් ඔබට ඒ දුක ඇති වුණේ දන්තජ ''ච'' යන්නෙන් එන අනිච්චතාව නිසාද, එහෙමත් නැත්නම් මහප්‍රාණ ''ඡ'' යන්නෙන් එන අනිච්ඡතාව නිසා ද කියල දැන් ඔහු මොකක් කියන්නද? දැන් අර කලින් කියපු තර්කවාදය මෙතනට දාගෙන, අනේ මට දුක ඇති වුණේ අහවල් අකුරෙන් එන වචනය නිසයි කියල ඔහුට කියන්න පුළුවන්ද? දැනුත් ඔහු මහප්‍රාණ, දන්තජ අකුරු පටලවාගෙන දුක ඇති වුණේ මොකෙන් ද කියල හිත හිතා ඉන්නවද? කල්පනා කරල බලන්න.

**මේ නිසා භාෂා නිරුක්තිය මොකක් වුණත් අපට ඒකෙන් වැඩක් නෑ, දහම් අර්ථය මොන විදියකින් හෝ වටහා ගන්න පුළුවන් ක්‍රමයක් තියේ නම් ඒ අර්ථයයි අපි ගන්න ඕන.** භාෂාවක යම් කිසි පදයක් අල්ලගෙන ඒ ගැන තර්ක කරකර හිටියට නිවන් දකින්න බෑ. **පද පරමයාට නිවන් දකින්න බෑ කියල බුදුන් වහන්සේ දේශනා කළෙත් මේ නිසයි. මෙහි දී පද පරමයාගේ ලක්ෂණය තමයි විග්‍රහ කර බැලීමේ හැකියාවක් නැතිකම. ඔහු යම්කිසි දෙයක් ඉගෙන ගත්ත නම් ඒ ඉගෙන ගත් සීමාවේ ඉන්නවා මිසක් ඉන් එහාට විමර්ශනය කරල හිතන්නෙ නෑ. ඒ ඉගෙන ගත් දෙයම පරම කරගෙන ඉන්නවා. උග්ඝටිතඤ්ඤ (කියපු ගමන්ම අර්ථය වටහා ගැනීමේ හැකියාව ඇති), විපඤ්චිතඤ්ඤ (අන්‍යයන්ගේ ආධාරයෙන් අර්ථ ඇතිව විග්‍රහ කර දීමෙන් පසු අවබෝධය ලබාගැනීමේ හැකියාව ඇති), ඤෙයිය (නිවන් දකින්න හේතුවාසනා ඇති නමුත් බොහෝ උත්සාහ කර ලැබිය යුතු) කියන මේ පුද්ගලයන් තුන් දෙනාටයි නිවන් දකින්න පුළුවන් වන්නේ.**

මෙහි දී බුදුන් වහන්සේ කාල සිටු පුත්‍රයාට ධර්ම දේශනා කරපු ආකාරයත් සිහියට නඟා ගැනීම ඉතා වැදගත්. **වචනය අමතක වේවා, අදහස පමණක් වැටහේවා කියල බුදුන් වහන්සේ කාල සිටු පුත්‍රයාට කරපු දේශනාව අවසානයේ ඔහු සෝවාන් ඵලයට පත්වුණා. නමුත් එක වචනයක්වත් මතක තිබුණෙ නෑ. ඒකෙන් පෙන්වපු දහම් අදහස විතරයි ගත්තේ.**

ඊළඟට විනය පිටකයේ චුල්ලවග්ග පාලියේ පෙන්වා තියෙන විදිහට **බුදුන් වහන්සේ අහනවා ලෝකායත ශාස්ත්‍ර ඉගෙනගෙන නිවන් දකින්න පුළුවන්ද කියල.** තර්ක ශාස්ත්‍රය, විතර්ක ශාස්ත්‍රය ආදී ලෝක සම්මත ශාස්ත්‍රයන් ගැනයි මේ කියන්නේ. එහෙම නැතිව නියම තර්කානුකූලත්වයක් ගැන නෙවෙයි. මේකට උපමාවක් පෙන්වනවා. කපුටා සුදුයි කිව්වම කොහොමද අහනවා ඔප්පු කරන්නේ. උගේ අස්ථි සුදු නිසයි සුදු කියල උත්තර දෙනවා. මේ වගේ යම්කිසි උපක්‍රම අනුගමනය කරල තර්කයෙන් කොහොම හරි ජය ගන්නවා. මේ වගේ දේවල් ඉගෙනගෙන නිවන් දකින්න බෑ කියන එකයි මේ පෙන්වන්නේ.

මේ අනිච්ච අර්ථය තේරුම් ගන්න තවත් වැදගත් දේශනාවක් සං. නි. (2) 175 පිටුවේ එන <u>සම්මසන සූත්‍රයේ</u> තියෙනවා. රා බීමට ගිජු වෙච්ච පුද්ගලයෙකුට රසවත්, සුවඳවත් ආස්වාද දෙන රා බඳුනක් ලැබුණම ඔහුගේ හිතවතෙක් ඒ රා බඳුනේ වස ඇති බවත්, රස සුවඳ ආස්වාද අඩු නැතුව ලැබුණත් බිව්වොත් මරණය හෝ මරණය සමාන දුකකට වැටෙන බවත් කිව්වම, ඒක විශ්වාස කරල ඒ පුද්ගලයා ඒ රා බඳුන නොබී වෙනත් දෙයකින් පවස සංසිඳවා ගත්ත නම් මරණයෙන් බේරෙන්නා සේ, ආස්වාද දෙන දේවල් කෙරෙහි අනිච්ච, දුක්ඛ, අනත්ත ආදී ලෙස දැක්කම සසර දුකෙන් මිදෙන හැටි පෙන්වා තියෙනවා.

දැන් මෙහෙම හිතමු. ඉහත කියපු පුද්ගලයා රා බොන්න හදනකොට "හිතවත ඔය රා බඳුන ස්ථිර නෑ, දුකයි, මමය, මගේය, මගේ ආත්මයයි ගන්න වටින දෙයක් නෙවෙයි" මේ විදිහට කිව්වොත් ඔහු නොබී ඉඳියිද? නමුත් ඒකෙ වස තියෙන බව ඔප්පු කරල පෙන්වල දුන්නට පස්සෙ අල්ලගෙන බලහත්කාරයෙන් පොවන්න හැදුවොත් ඔහු මොන වගේ ප්‍රතිචාරයක් දක්වයිද? මෙන්න මට රා පොවන්න හදනවෝ මාව බේර ගනියෝ කියල කියයිද? නැත්නම්, මට වස පොවන්න හදනවෝ මාව බේර ගනියෝ කියල කෑ ගහයිද?

රස සුවඳ ආස්වාද ජනක රා බඳුන කියන අදහස මොහොතකින් ගිලිහිලා ගිහින් "වස බඳුන" කියන අදහස එනවා වගේ ආස්වාද දෙන සංස්කාරයෝ පටිච්ච සමුප්පන්න ක්‍රියාවලිය ඔස්සේ ගිහින් ජරා, මරණ, සෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස, උපායාසයන්ගෙන් කෙළවර වන හැටි බැලීමෙන් සියලු සැප වින්දන භයානක දුක් ගොඩට අයිති බව වැටහෙන දහම දකින්න පටන් ගන්නවා. එතකොට තමයි අනිසි, දුක්ඛ, අසාර වශයෙන් ත්‍රිලක්ෂණය වැටහිලා ප්‍රඥාව පහළ වෙන්නේ.

**එහෙනම් දහම් අවබෝධය ලබාගෙන නිවන් දකින්න නම් පදයේ පද අර්ථය, පද නිරුක්තිය දැකිය යුතුයි. ඒක භාෂා නිරුක්තියක් නෙවෙයි.** ☞

**නිරුක්ති පටිසම්භිදා ඥානයට අයිති දෙයක්. එහෙම නැතිව පොතපතක තියෙන දෙයකට සීමා වෙච්ච දෙයක් නෙවෙයි.** ව්‍යාකරණානුකූල පොත්පත්වල තියෙන්නේ භාෂා නිරුක්ති. ඒවා භාෂා රීති. **මේ භාෂා රීතීන් බුදුන් වහන්සේ අනුමත කරපු දේවල් නෙවෙයි. භාෂා රීතීන්ගෙන් උන්වහන්සේ අනුමත කළේ අතීත, වර්තමාන, අනාගතය පෙන්වන තුන්කල් නිරුක්තිය විතරයි.** (සංයුක්ත නිකාය (3) - 124 පිටුව - <u>නිරුක්තිපත සූත්‍රය</u>) ලෝක ව්‍යවහාරයේ පෙන්වන වචනවලින් අතීත, වර්තමාන, අනාගතය පෙන්වන අදහස ඇති ක්‍රමය විතරක් ගන්න කිව්වා. එනම්, **අතීතයේ නම් ''විය'', දැන් නම් ''වෙයි'', මතු නම් ''වන්නේය''. මේ තමයි උන්වහන්සේ අනුමත කරපු තුන්කල් නිරුක්තිය.** මේ හැර අනෙක් භාෂා නිරුක්තීන්, භාෂා රීතීන් කිසිසේත්ම අනුමත කළේ නෑ. **දහම් අදහස මතුවෙනව නම් භාෂා රීතිය මොකක් වුණත් කමක් නෑ, ඒ අදහස ගන්න කියලයි දේශනා කළේ** (මජ්.නි. 3, 484 පිටුව - <u>අරණවිභංග සූත්‍රය</u>).

නමුත් අද වෙන කොට ඒ බුද්ධ දේශනාව පැත්තකට දාලා භාෂා රීති, ව්‍යාකරණ ආදිය අල්ල ගෙන කෑගහන එකයි කරන්නේ. බුදුන් වහන්සේ එපා කිව්ව එකමයි කරන්නේ. අනෙක භාෂා රීතිය අල්ලගෙන කෑගහන උදවියම භාෂා රීතිය කඩන තැන් ඕනෑ තරම් තියෙනවා. නමුත් ඒවා පේන්නෙ නෑ. උදාහරණ විදිහට ''බුද්ධං සරණං ගච්ඡාමි'' කියන සරණ වාක්‍යය ගත්තොත් ඒක භාෂා රීතියට එකඟ **නෑ. කෝ අහම් (මම) කියන පදය? උක්තය නෑ. භාෂා රීතිය අනුව ගත්තොත් මේක වැරදියි. නමුත් මුල් කාලයේ භික්ෂූන් වහන්සේලා පැවිදි උපසම්පදා කළෙත්, පසු කලෙක පටන් බුද්ධ නීතිය අනුව සාමණේර කරන්නෙත් තිසරණ වාක්‍ය මේ විදියට කියලයි. එතකොට අපි උදේ ඉඳන් රෑ වෙනකල් තිසරණ සමාදානය කියල කියන්නෙත් මේ ක්‍රමයටමයි. එහෙමනම් මේ කියන තිසරණයත්, භාෂා රීතියෙන් සම්පූර්ණ ද කියල දැන් කල්පනා කරල බලන්න.**

අනෙක් කාරණය නම් මේ භාෂා නිරුක්තිවලින් ධර්මය විග්‍රහ කරන්න ගියාම අපි පැටලෙන තැන් අප්‍රමාණයි. උදාහරණ විදිහට පසුකාලීනව ලියපු අටුවා පොත්වල මෙහෙම විග්‍රහ කරල තියෙනවා. ''ඡින්න භින්න පට දා රේතීති භික්ඛු, භික්ඛාටනේන භික්ඛු, සංසාරේ භයං ඉක්ඛතීති භික්ඛු'' සිඳුණු බිඳුණු පට දරන නිසා භික්ෂු වන බවත්, ආහාරය හිඟා කාලා ජීවත්වන නිසා භික්ෂු වන බවත්, සසර භය දැනගෙන ඉක්මවා යන කෙනා භික්ෂු වන බවත් කියවෙන භාෂා නිරුක්තීන් තමයි මේ අර්ථ තුනෙන් විග්‍රහ කරල පෙන්වා තියෙන්නේ. දැන් මේ කතාව අහගෙන හිටපු ඒ කාලයේ එක්තරා හිඟන්නෙක් ඇවිත් භික්ෂූන් වහන්සේ නමකට කියනවා, එහෙනම් මමත් භික්ෂුවක් මටත් වැඳපල්ලා, ගරු කරපල්ලා කියල. පදේ පද නිරුක්තිය තෝරන්න ගිහින් කන බොන ආහාරය හිඟා කන නිසා භික්ෂු කිව්වම හිඟන්නටත් පොටක් පෑදුණා. ඊළඟට සිඳුණු බිඳුණු පට දරන නිසා භික්ෂු කිව්වම තවත් හිඟන්නෙක් කැඩිල ඉරිල ගිය වැරහැල්ලක් ඇඳගෙන ඇවිත් කියනවා, ඒකෙන් භික්ෂු වෙනව නම් මමත් ඒ වගේ පට තමයි දරන්නේ, ඒ නිසා මමත් භික්ෂු, මටත් පුද සත්කාර කරපල්ලා, වැඳපල්ලා කියල. දැන් නැහැ කියන්නද? භික්ෂු කියන වචනයේ අර්ථයන් මේව නම්, අර හිඟන්නො දෙන්න කියන කතාව හරිනේ! ඒක අපට නෑ කියන්න පුළුවන්ද? එහෙනම් භාෂා නිරුක්තිය හරිද? දැන් මෙහෙම උත්තර දෙන්න ගියොත් අපට මොනවා වෙයි ද කියල කල්පනා කරල බලන්න.

එහෙනම් අපි භික්ඛු කියන පදය තුළම තියෙන දහම් අර්ථය හඟවන පද නිරුක්තිය දැකිය යුතුයි ''භි'' කියන්නේ භවයයි, බිහි වීමයි. හෙවත් පහළ කිරීමයි, හට ගැන්වීමයි. ''ක්ඛු'' කියන්නේ ක්ෂය කර දමනවා කියන එකයි. භවය ක්ෂය කර දමන්නේ භික්ඛු. මේ තමයි පද නිරුක්තිය. දැන් මේ අර්ථය කිව්වමත් අර හිඟන්නො දෙන්නට කියන්න පුළුවන්ද ඒ අයත් භික්ඛු කියල? දැන් මේ කියපු අර්ථයට තවත් අර්ථයක් දෙන්න පුළුවන්ද? එහෙමනම් මේ තමයි වැඳිය යුත්තා, පිදිය යුත්තා, ගරු කළ යුත්තා. ඥානවන්තයා භවයේ ආදීනව දැකලා භවය ක්ෂය කරන්න කටයුතු කරනවා. මේ තමයි භික්ඛු වෙන හැටි. පද නිරුක්තියෙයි, භාෂා නිරුක්තියෙයි වෙනස දැනගන්නයි මේ කාරණය පෙන්වා දුන්නේ.

මේ විදිහට ධර්මානුකූලව පද නිරුක්ති පෙන්වා දුන් පසුවත් සමහර විතණ්ඩවාදී තර්කවාදීන් කියනවා, ඔය විදියට වචන කඩල පද වෙන් කරල අර්ථ දෙන්න බෑ, භික්ඛු කියන එක ඔහොම කඩන්න පුළුවන් නම් අපිත් ඕක වෙන විදිහකට කඩල පෙන්වන්නම් කියල. ඔවුන් කියනවා ''භි'' කියන්නේ බඩගින්න, ''ක්ඛු'' කියන්නේ ක්ෂය කිරීම, බඩගින්න ක්ෂය කරන නිසා භික්ඛු කියල. දැන් මේ නගපු තර්කයට අපි කොහොමද ධර්මානුකූලව පිළිතුරු දෙන්නේ? හොඳයි බැරිවෙලාවත් මිනිස්සු කතා කරන දේ අහගෙන ඉඳල තිරිසන් සතුන්ටත් කතා කරන්න පුළුවන් වුණා නම්, දැන් මේ කියපු තර්කවාදීන්ගේ තර්කය අහගෙන හිටපු බල්ලෙක්, හරකෙක් වගේ තිරිසන් සතෙක් ඇවිදින් කිව්වොත්, අනේ මටත් බඩගිනි හැදෙනවා, මමත් බඩගින්න ක්ෂය කරනවා, ඒ නිසා මමත් භික්ෂු, මටත් වැඳපන් කියල මේ තර්කවාදීන් දෙන උත්තරය මොකක්ද? බඩගිනි නැති කරන්නෙ භික්ෂූන් වහන්සේලා විතරක්ද? අනෙක් මිනිස්සුයි සත්තුයි කාල බීල බඩගිනි නිවාගෙන නෙමෙයි ද ජීවත් වෙන්නේ? ඉතින් මේ වගේ බොළඳ තර්ක මතුකරන උගත් යැයි කියාගන්නා සමහර තර්කවාදීන්ට මේ න්‍යාය ධර්මය තේරුම් ගන්න බැරිවුණාට, බාලාංශ පන්තියේ ඉන්න පුංචි ළමයෙකුටත් සාමාන්‍ය දැනීමෙන් තේරුම් ගන්න පුළුවන් මේ කියන කතාව ගැළපෙන්නෙ නැති බව.

ඒ විදියට තමන්ගේ මතයට නිරුක්ති දෙන්න ගිහින් තවත් විතණ්ඩවාදී තර්කවාදියෙක් කිව්වොත් ''භි'' කියන්නේ බෝම්බ, ''ක්ඛු'' කියන්නේ නිශ්ක්‍රීය කිරීම, බෝම්බ නිශ්ක්‍රීය කරන නිසා භික්ඛු කියනවා කියල, ඒ කතාව මොන ධර්මයට ද ගැළපෙන්නේ? මොන විනයටද සැසඳෙන්නේ? **මේ නිසා වචන කඩනවයි කියල අපට ඕන විදිහට නිරුක්ති දෙන්න බෑ. ඒ දෙන නිරුක්තිය ධර්මානුකූලව නිවැරදියි කියල ඔප්පු විය යුතුයි. ඒක නිරුක්ති පටිසම්භිදා ඥානයෙන් මතුවන දෙයක් මිසක් භාෂා උපාධි ආදී ලෞකික ශාස්ත්‍රවලින් කරන්න පුළුවන් දෙයක් නෙවෙයි. ඉතින් භාෂා විශාරදයන් වෙලා ආචාර්ය, මහාචාර්ය වුණත් නිරුක්ති පටිසම්භිදා ඥානය නැතිනම් ධර්මයේ එන දහම් පදවලට නිරුක්ති දෙන්න ඒ අයට බෑ, ඒවාට අර්ථ දක්වන්න බෑ. අර්ථ දක්වන්න ගියොත් වෙන්නේ අන්ධ ඇතෙක් කැලේ ගිහින් අතරමං වුණා වගේ වැඩක්.**

මෙතැන දී අපට බොහෝ වැදගත් වෙනවා, බුද්ධ දේශනාව මොකක්ද කියල තෝර ගන්න බුදුන් වහන්සේම දේශනා කරපු ක්‍රමය. යම් දේශනාවක්, ක්‍රමයක් ධර්මයට හා සූත්‍රයට බහා බලන කොට බහා හිටිනව නම් හා විනයත් සමඟ සැසඳෙනව නම්, ඒක බුද්ධ දේශනාව ලෙස ගන්න කියලයි බුදුන් වහන්සේ දේශනා කළේ. නෙත්ති ප්‍රකරණයේ 39 පිටුවේ

එන යුක්තිහාර විභංගයට අනුව ධර්මයට, විනයට, සූත්‍රයට බහා බැලීම කියන කාරණා තුනක් ගැන සඳහන් වෙනවා. මෙහි දී ධර්මයට බහා බලනවයි කියන්නේ පටිච්ච සමුප්පාදයට බහා බැලීමයි. සූත්‍රයට බහා බලනවයි කියන්නේ චතුරාර්ය සත්‍යයට බහා බැලීමයි. විනයට බහා බලනවයි කිව්වම අද හිතන් ඉන්නේ පොතේ තියෙන විනය හෙවත් විනය පිටකය කියලයි. නමුත් මේ කියන්නේ ඒක නෙවෙයි. විනය කියන්නේ හික්මවීමයි. රාග විනය, ද්වේශ විනය, මෝහ විනය කියන තුනයි. රාග, ද්වේශ, මෝහ ක්‍ෂය කරනවා කියන එකයි විනය කරනවා කියන්නේ. එනම් යමක් ඇසුරු කරන කොට රාගක්‍ෂය, ද්වේෂක්‍ෂය, මෝහක්‍ෂය වෙන්න හේතුවන බව පේනව නම්, ඒක බුද්ධ දේශනාව ලෙස ගන්න කියන එකයි විනයට දාල බලන්න කියන එකෙන් අදහස් කරන්නේ (අංගු. නි. 2, 182 පිටුව - රාග විනය සූත්‍රය). රාග, ද්වේශ, මෝහ ක්‍ෂය කරන වැඩපිළිවෙළ කරගෙන යන කොට ඒකට බාධා පමුණුවන, විහිළු කොළොප්පම් කරන අයට පනවපු නීති රීති මාලාවක් තමයි විනය පිටකයේ තියෙන්නේ. විනයට හික්මෙන අයට අනුග්‍රහයක් දීමයි විනය පිටකයෙන් කරන්නේ.

අං. නි. (5) 233 පිටුවේ එන ගෝතමියෝවාද සූත්‍රයෙන් කියන්නෙත් මේ ටිකම තමයි. එනම් යමක් ඇසුරු කරන කොට රාග, ද්වේශ, මෝහ ක්‍ෂය වෙන්න හේතුවන බව පේනව නම් ඒක බුද්ධ දේශනාව ලෙස ගන්න කියන එකයි. යම්කිසි කාරණයක් ධර්මයට විරුද්ධ ද, නැද්ද කියන ප්‍රශ්නයක් ඇති වුණොත් ඒක විසඳ ගන්නයි මේ ක්‍රමය දීල තියෙන්නේ. එහෙනම් පද නිරුක්ති හා භාෂා නිරුක්ති කියන ඒවත්, විවිධාකාරයේ තර්කවාදීන් අත්තනෝමතිකව දෙන අර්ථත් ධර්මයට විනයට සැසඳෙනවද කියල මේ ක්‍රමයට බහා බැලීමෙන් අපටම තෝර ගන්න පුළුවන්. දැන් අර කලින් කියපු භික්ඛු කියන වචනයට දීපු පද නිරුක්තියෙයි, විවිධාකාර භාෂා නිරුක්තිවලයි වෙනස පැහැදිලිව පේනවා. එහෙනම් තම තමන්ට ඕන විදියට පදවලට පද නිරුක්ති දෙන්න බෑ කියන එකත් මෙසේ ධර්මානුකූලව තේරුම් ගත යුතුයි.

මේ අනුව අද වෙන කොට පැහැදිලිව පේන්න තියෙන කාරණයක් තමයි, **බුදුන් වහන්සේ දේශනා කොට වදාළ ධර්මයේ එන දහම් පදවලට අද දෙන අර්ථයන්, භාෂා නිරුක්තීන් සමග පටලවා ගැනීම නිසා ඒවායින් නියම දහම් අදහස පිළිබිඹු නොවන බව.** මේ නිසා පොතේ තියෙන දේ කට පාඩම් කරගෙන දැනුම රැස් කරනවා හැරෙන්න ඉන් එහාට විමර්ශනාත්මකව සිතීමක් නෑ. පොතේ තියෙන්නේ මේ විදියටයි කියමින් ඒකම හිස් මුදුනින් දරාගෙන ඉන්නවා. මේ නිසා දහම් අවබෝධය ලබනවා වෙනුවට එකෙක් පරද්දල තවෙකෙක් දැනුමින් පොහොසත් වෙන්නයි බලන්නේ. ඒවටම හරියන්න විවිධාකාරයේ උපාධි ගොඩවල් වැහි වැහැලා. උපාධි දහයක් පහළොවක් අරගෙන ලෝකෙට අඬබෙර ගහනවා මම බෞද්ධ දර්ශනය සම්බන්ධයෙන් අච්චර මෙච්චර දේවල් ලබාගෙන තියෙනවයි කියල. හැබැයි යථාර්ථය නොදැන විකෘති අන්දමින් කටයුතු කරල අන්තිමට මළාට පස්සෙ උප්පත්තිය බැලුවොත් සතර අපායේ. ඉතින් මොනවද ඔය උගත්කම්වලින් හිස උදුම්මාගත් අය අන්තිමට ලබාගෙන තියෙන්නේ? මේ නිසා තමයි පොතෙන් ඔබ්බට ගිහින් දහම් අර්ථය සොයාගත යුත්තේ.

දැන් පිණ්ඩපාතෙ කියන එකට අද කියන්නේ ආහාර හොයාගෙන ගමන් කරනවා කියලයි. එනම් පිඩුසිඟා වඩිනව කියන එකයි. නමුත් ඔය වැඩේ හිඟන්නත් කරනවා. හැබැයි හිඟන්නා සිඟමන් ඉල්ලා යනවයි කියනවා මිසක් පිණ්ඩපාතෙ යනවයි කියල කියන්නෙ නෑ. මෙහි දී පිණ්ඩපාත කිව්වේ යන එන ගමනට නෙවෙයි, පිඩු පත කියන එකයි. හිඟන්නා යාච්ඤා කරමින් බැගෑපත් වෙමින් කොහොම හරි යමක් ලබා ගන්නයි බලන්නේ. සමහර විට ලැබුණෙ නැත්නම් බැණ බැණත් යනවා. නමුත් භික්ෂූන් වහන්සේ නමක් එහෙම කරන්නෙ නෑ. උදෙසා දෙන කෙනෙක් ඉන්නව නම්, ඒ බලාපොරොත්තුවෙන් ඉන්නවා. දුන්නෙ නැතිනම් යනවා මිසක් ගුණකීම්, ඉල්ලීම්, බැගෑපත් වීම් ආදිය භික්ෂූන් වහන්සේ ළඟ නෑ. හිඟන්නා සිඟමන් යෑමත්, භික්ෂූන් වහන්සේ පිණ්ඩපාතෙ කිරීමත් අතර වෙනස ඒකයි. ඒ සඳහා භාවිතා කරන වචන අර්ථයෙන් වෙනස් කරල තියෙනවා. මේ නිසා වචනයේ භාෂා නිරුක්තියෙන් යථාර්ථය හොයාගන්න බෑ. ඒකෙන් අදහස් කළ අර්ථය හොයාගත යුතුයි. හිඟ + අන්න =හිඟන්නා. අන්න කියන්නේ ආහාරයයි. අන්න + පාන =ආහාර පාන. හිඟ කියන්නේ අඩුපාඩුවයි. හිඟ + අන්න = හිඟන්නා (ආහාරය හිඟ කෙනා). හිඟ + මන =හිඟමන කියන්නේ හිතට හිඟ බවයි. එනම් අනේ මට නෑ කියමින් ලතැවෙමින් අඳෝනා නඟන කෙනාගේ හිඟ මනසේ ආකාරයයි. භික්ෂූන් වහන්සේ කියන්නේ හිඟ + අන්නෙක් හෙවත් ආහාර හිඟා කන කෙනෙක් නෙවෙයි. හිඟ මනක් උන්වහන්සේට නෑ. පිණ්ඩ කියන්නේ පිඩුවක් හෙවත් ටිකක් කියන එකයි. පත කියන්නේ පාත්‍රයයි. බොහෝ අය දානය දෙන්න බලාපොරොත්තු වෙන නිසා පාත්‍රයට පිඩ පිඩ හෙවත් පොඩ්ඩ පොඩ්ඩ ලබා ගන්නවා. ඒකයි පිණ්ඩපාත කියල කියන්නේ.

නිරුක්ති ගැන කතා කරද්දී හොඳට පැහැදිලිව පොත්වල පෙන්වා තියෙන කාරණයක් තමයි ස්වභාව නිරුක්තිය කියන වචනය. විභංග ප්‍රකරණය (2) සංඥාපනයේ මේ ගැන බොහොම හොඳට විග්‍රහ කරල තියෙනවා. ඒක හරි වැදගත්. මේ ස්වභාව නිරුක්ති කියන වචනය පෙළ දහමෙත් අටුවාවෙත් තියෙන වචනයක්. පාලි වචනෙත් එහෙමම තියෙනවා. **ස්වභාව නිරුක්ති කියන වචනයෙන් පැහැදිලිව තියෙනවා එහි යම්කිසි ස්වභාවික අදහස කියල. එතකොට ඒකට නැවතත් වෙනත් අමුතුවෙන් වචන දාන්න දෙයක් නෑ, ස්වභාවයෙන්ම තියෙනවා.**

ඉතින් ඒක නිසා පටි + ඉච්ච කියන එක ප්‍රති + ඉත්‍ය කියල සංස්කෘත භාෂාවෙන් දැම්මට ස්වභාවික වෙන්නෙ නෑ. වචනෙ අදහස ගන්න ඕන. පටි + ඉච්ච කියන එක ගන්න දන්නෙ නෑ. මේ නිසා මොකද කරන්නෙ ස්වභාව නිරුක්ති ලක්‍ෂණයක් කියල තමන්ගේ මතයට අලුතින් හදාගත්තු එකක් දාල ඒකට ස්වභාව නිරුක්ති කියනවා. එහෙම හදාගෙන ඒකට නමක් දාගන්නවා. ඒක භාෂාවේ හදාගත්තු රීතියකින් තමයි කරන්නේ. ඊට පස්සෙ ඒක ඒ නමින් ගැලපෙන හැටිත් කියනවා. ඉතින් පරස්වරය ලොප් වෙලා, පූර්වස්වරය ලොප් වෙලා, ස්වර ආදේශ වෙලා... මේවායෙ හෙළ ආරයට ගැලපෙන පද බෙදීම් සන්ධි වීම් අමතක කර දමා පටිජ - පටිජ්ජ - පටිජ්ජ - පටිච්ච ආදී **මේ වගේ හදාගත්තු භාෂා රීති මාධ්‍යයකින් වචන හැදිච්ච හැටි කියනවා. එහෙම කියන්නෙත් වචන 2 ක් සම්බන්ධ වෙන හැටි විතරයි. අකුරු 2 ක් සම්බන්ධ වෙන හැටි ඕකෙන් කියන්න බෑ. ඒනිසා තමයි ''රජ'' කියන වචනය සම්බන්ධ වෙන හැටි භාෂා රීතියකින් හදන්න බැරි. ''ර'' යන්නයි ''ජ'' යන්නයි** එකතු වෙන හැටි කියන්න කිව්වොත්

27 වෙනි පිටුවට...

# අනිත්‍ය - අනිච්ච පටලවාගෙන වැසී ගිය නිවන් මග නැවතත්.

"අනිත්‍යයි, වෙනස් වෙනවා, අන්‍ය තත්වයට පත්වෙනවා" අපට බොහෝ විට අහන්න ලැබෙන මේ කරුණත් නිවන් මග වැහෙන්න බලපාල තියෙනවා. කෙනෙකුට නිවන් දකින්න ඕන කියන හිතක් ඇති වෙන්නේ මොකක් නිසාද? දරා ගන්න බැරි විශාල දුක් වේදනාවක් කරදර ගොඩක් ඇති වුනාම, අනේ මේ දුකෙන් නිදහස් වෙන්න ඇත්නම්.... කියල හිතනවා. ඇත්තටම මෙහෙම හිතන්නෙ කියන්නෙ, මේ අය දුක දැකලද? නෑ, තමන්ට සිද්ධවුන පාඩුවක් දැකලයි මෙහෙම හිතන්නෙ කියන්නෙ. බුදු පියාණන් වහන්සේ දේශනා කරපු දුක්ඛ සත්‍යය දැක්ක නම්, දුක්ඛ සමුදයත්, මාර්ගයත්, නිරෝධයත් දකිනවා. එහෙමනම් නිවනට අදාලව අනිත්‍යයි, වෙනස් වෙනවා, අන්‍ය තත්වයට පත්වෙනවා කියන කාරණාවලින් සසර දුකයි කියල වැටහෙන්න ඕන. ඇත්තටම එහෙම වෙනවද කියල විමසල බලමු.

**බුදු පියාණන් වහන්සේත්, රහතන් වහන්සේලාත් නිවන් දැක්කේ ජීවත් වෙලා සිටියදීමයි. බොහෝ අය හිතන්නේ පිරිනිවන් පෑවට පස්සෙයි නිවන් දකින්නෙ කියල. රාගක්ඛයෝ නිබ්බානං, ද්වේශක්ඛයෝ නිබ්බානං, මෝහක්ඛයෝ නිබ්බානං. රාග, ද්වේශ, මෝහ ක්‍ෂය කිරීමයි නිබ්බාන කියන්නේ. ජීවත්ව ඉඳිද්දී කරගන්න නිවීමේ ප්‍රතිඵලයයි සෝපධිශේෂ නිර්වාණය කියන්නේ. ඉන් පසුව නම් පනවන්න ලෞකික කිසිවක් නෑ. එහෙනම් චතුරාර්‍ය සත්‍යය දකින්න ඕන මේ පරිසරය තුලින්මයි. එදිනෙද ජීවිතයේදී හමුවන දේවල් තුලින්ම මේ ප්‍රශ්නය විසඳා ගන්න ඕන.**

(1) පැහිච්ච කොස් ගෙඩියක් තියෙනවා. මේක ටික දවසකින් ඉදෙනවා. අනිත්‍යයි, ස්ථිරව පැවතුනේ නෑ. වෙනස් වුනා, අන්‍ය තත්වයට පත්වුනා. ඒක දැන් සුවඳ පැතිරෙන වරක ගෙඩියක්. දැන් මේ වරක ගෙඩිය දැකල කාටවත් දුක හිතෙනවද?

(2) පැහිච්ච කොස් ගෙඩියක් තියෙනවා, දැන් මේක පැහිල වැඩි කමට පිට කටුලෙල්ල පුපුරනවා. ටික දවසකින් වැස්සක් වැහැල මේ පිපිරීම තුලින් කොස් ගෙඩිය ඇතුලට වතුර යනවා. දැන් ඒ පුපුරපු තැන් අසල තියෙන කොස් මදුළු



කුණු වෙනවා. දුගඳයි. ප්‍රිය මනාප නෑ. නමුත් කොස් ගෙඩිය ඉදිලා. අනිත්‍යයි, වෙනස් වෙලා, අන්‍ය තත්වයට පත් වුනා. දැන් කුණු ගඳ ගහන වරක කුණක්. දැන් මේ වරක ගෙඩිය දැකල කාටවත් ප්‍රිය මනාප හිතෙනවද?

එහෙනම් දුක්ඛ සමුදය වුනේ (දුක හටගත්තේ) අනිත්‍ය නිසා, වෙනස් වුන නිසා, අන්‍ය තත්වයට පත්වුන නිසාද? නැත්නම් ඒ වෙනස් වීම අපි කැමති විදිහට සිද්ධ නොවෙච්ච නිසාද?. කැමති විදිහට නෑ. ඒ කියන්නෙ අනිච්චයි. කැමති විදිහට සිද්ධ වුනේ නැති නිසා දුකයි. වරක කුණක ගන්න දෙයක් නෑ වගේ, අනිච්ච දේවල්වලින් ගන්න හරයක් නෑ. අනත්තයි. අනිච්ඡ කිච්චේ ඉච්ඡ සේ නොපවතින බව පවසන්න නමුත් භාෂා රීති පෙන්වා විපරීත අදහස් ගෙනෙන සමහර පිංවතුන් නිසා ඊට අපිත් අනිච්ච කියලම කියනවා.

මෙන්න මේ වගේ මේ වෙනස්වන, අනිත්‍ය ධර්මතාවය තුළ මන වඩන අවස්ථාවක් තියෙනවා. ලෝක සත්වයා මේ සසර ගමනට බැඳෙන්නේ මේ මන වඩන, ප්‍රිය මධුර අවස්ථාවක්, ආස්වාද ගෙන දෙන අවස්ථාවක් ඇති නිසයි.

තවත් උදාහරණයක් අරගෙන බලමු. නිවසක් හදන්න බලාපොරොත්තු-වෙන කෙනෙක්, නිවාස ඉදිකරන ආයතනයකට නිවස ඉදිකරන්න බාර දෙනවා. ඉඩමට යන කොට ගඩොල් තියෙනවා. වැලි, සිමෙන්ති, ලී දඬු, ආදිය රැස් කරල තියෙනවා. මේ දේවල් එකතු කරල ටිකෙන් ටික බිත්ති බැඳල, දොර ජනෙල් වා කවුළු තියල ලස්සනට නිවස ඉදි වෙනවා. වැලි, සිමෙන්ති, වතුර එකතු වෙලා බදාම හැදෙනවා. බදාම, ගඩොල් එකතුවෙලා බිත්ති හැදෙනවා. මේ විදියට ලී දඬු කපල හදල දොර, ජනෙල්, වහළ ආදිය හැදෙනවා. ගඩොල්, වැලි, සිමෙන්ති, ලී දඬු ආදිය අනිත්‍ය වෙලා, වෙනස් වෙලා, අන්‍ය තත්වයට පත්වෙලා තමයි නිවස ඉදිවුනේ. දැන් නෑ හිතවතුන්ට සංග්‍රහ කරල ලොකු උත්සවයක් එහෙම අරගෙන නිවසේ පදිංචි වෙනවා. අපිට ලස්සන නිවසක් ලැබුණ කියල සතුටුත් වෙනවා.

ටික දවසකින් නෝනා මෙහෙම අඳෝනා නගනවා "අයියෝ... කෑම මේසෙට ටොයිලට් එක පේනවා. නිදන කාමරේ ළඟ ඉඳල බාත්රූම් එකට යන්න පඩි තුනක් බැහැල සාලෙට ගිහින්, තව පඩි තුනක් නැගල කෑම කාමරේට ගිහින්, තවත් පඩි දෙකක් බැහැල යන්න ඕන. අසනීපයක් එහෙම හැදුන වෙලාවට හරි කරදරයි. පොඩි අයත් පඩිවලින් වැටෙයි කියල බයේ හැම තිස්සෙම ☞

පස්සෙන් ම ඉන්න ඕන..." දැන් අඩුපාඩු ගොඩයි. කැමති විදිහට නිවස ඉදිවෙලා නෑ. අනිච්චයි, දුකයි.

මහත්තයගෙ යාළුවෙක් එනවා. ඔහු කියනවා "ඔයාගෙ ගේ හරි ලස්සනයි, ගෙට හොඳට එළිය වැටෙනවා. ඉඩ කඩත් හොඳට තියෙනවා, පෙනුමයි. කවුද හැදුවෙ" කියල. දැන් මහත්තයට හරි සතුටුයි. අහවල් ආයතනය හැදුවෙ කියල කියනවා. "මගෙ පුතාටත් ගෙයක් හදන්න හිතේ තියෙනවා. ඒකත් ඒ අයටම භාර දුන්නොත් හොඳයි..." යාළුවත් මෙහෙම කියනවා. දැන් ලස්සන කියන මායාවෙන් ඒ දෙන්නටම ආදීනව නොපෙනී ගියා. එකම නිවස කැමති විදිහට සකස් වෙලා නැති නිසා, නෝනට අනිච්චයි, දුකයි. ලස්සනයි කියන ආස්වාද මායාවෙන් ආදීනව නොපෙනී ගිය නිසා මහත්තයට සතුටුයි, උද්දමයි.

**අපි භෞතික ලෝකයේ ලබන යම් ආස්වාදයක් ඇත්නම් ඒවා තවත් යමක් හෝ යමෙක් හා බැඳීමෙනුයි ලැබෙන්නෙ.** උදාහරණයක් වශයෙන් දරුවෙක් ශිෂ්‍යත්වය සමත් වුනාම, ඒ දෙමව්පියො, උගන්වපු ගුරුවරු "අපේ දරුවා... අපේ ශිෂ්‍යයා..." කියන බැඳීමෙන් සතුටු වෙනවා. ඒ දෙමව්පියොත් සමග අමනාප තරහ වෛර තියෙන කෙනෙක් ඒ ගැන සතුටු වෙන්නෙ නෑ. "... ගහේ කටු උල් කරන්න ඕන නෑ. ලොකු මහත්වුනාම ඒකත් මහ එවුන් වගේ වේවි..." මේ වගේ ද්වේශ සහගත අමනාප අදහසක් තමයි ඒ අයට ඇති වෙන්නෙ. එහෙනම් දුකට හේතුව තමාගේම මනස ක්‍රියා කරන ආකාරය මිසක් බාහිර සිදුවීමම නෙවෙයි. අනිත්‍යයි වෙනස් වෙනවා, අන්‍ය තත්වයට පත් වෙනවා කියන්නෙ බාහිරව සිදුවන දෙයක්. **අපේ මනස කැමති අකමැති කියන මේ බේදීමක් ඇතිකර ගැනීම තමයි බාහිර ලෝකයක් නිර්මාණය වීමට තරම් ප්‍රබල ශක්තියක් වුනේ.** (පසුගිය කලාපයෙන් මේ බව විස්තර කළා) එහෙම නම් ඒ හේතුවෙන් ගොඩනැගුණ ලෝකයත් ඒ ගති ස්වභාවයෙන් යුක්තයි. වැල් පොලියට ණයක් ගත්ත වගේ, ඒ නිර්මාණය කරගත්තු ලෝකෙ ඇති දේවල් ගැන නැවතත් කැමති - අකමැති කියන බේදීම නිසා ගොඩනගන සංඛාර හේතුවෙන් අනාථ සසරක දුක් විඳිනවා. කැමති දේ ආස්වාදයි. අකමැති දේ අනිච්චයි, දුකයි.

**ළදරු ඇස අනිත්‍ය වෙලා, වෙනස් වෙලා, අන්‍ය තත්වයට පත්වෙලා, ළමා ඇස, තරුණ ඇස කියන තත්වයට පත්වුනා. ළදරුවා උඩු අතට ඉඳිද්දි දැක්කෙ අම්මා, තාත්තා, තොටිල්ල උඩින් එල්ලා තියෙන වර්ණවත් නාද සහිත ළමා උපකරණ ආදිය විතරයි. තරුණ ඇස ඊට වඩා ආස්වාදය ගෙන දෙන බොහෝ රූප දකිනවා. ඒවායින් ආස්වාදත් විඳිනවා. ඒ වෙනස් වීම ඒ දරුවට දුකක්ද, සතුටක්ද කියල හිතල බලන්න. කන, නාසය, දිව, කය කියන අනෙක් ඉන්ද්‍රියන්ද එසේමයි. කිරි දත් වැටිල සවිමත් දත් ලැබෙන එක, අත් පා සවිබල වෙන එක සසර දුක් සහිතයි කියල නෙවෙයි, සසර සැප සොම්නස ගෙනදෙන වටිනා එකක් හැටියටයි ඒ තරුණ වයසෙදි පේන්නෙ.**

ඔය ලස්සන ඇහැ උදේට නැගිටින කොට කබ, කඳුළුවලින් පිරිල. ඒක හෝදල පිරිසිදු කරන්න ඕන. දැන් එහෙම හෝදල පිරිසිදු කළත් හවසට ආයෙ හෝදන්න ඕන. ආයෙත් පසුද උදේටත්, හවසටත් මේ විදියට ඇහැ තියෙන තාක් කල් හෝදල පිරිසිදු කරගන්න ඕන. ඔය විදියට පිරිසිදු කරන්න සිදුවෙච්ච ඇසක් තියෙන්නෙ ඔබට විතරයි, අනෙක් අයට එහෙම කරන්න වෙන්නෙ නෑ කියල කිව්වොත්... හැමදම හෝදල පිරිසිදු කරන්න සිදුවීම මහා දුකක් නේද? මේ ඇස රෝගයක්. කොච්චර පරිස්සම් කළත් ඇස් රෝග බෝවෙන කාලෙට බයක් එනවා. රෝග හැදුනොත් බෙහෙත් කරන්නත් වෙනවා. කොච්චර පරිස්සම් කළත් අවුරුදු හතලිහ වෙනකොට පෙනීම දුර්වල වෙනවා. විවිධාකාර රෝග පීඩා එනවට කැමති නෑ. නමුත් එන එක නවත්වන්න බෑ. **එහෙනම් මේ වටිනවයි, හොඳයි,ආස්වාද ජනක රූප බලන්න පුළුවන් කියල දුක් විඳල ගොඩනගා ගත් ඇස අපි කැමති විදියට පවත්වාගන්න පුළුවන් එකක් නෙවෙයි. ඕනෑම මොහොතක කැඩිල, බිඳිල විනාස වෙන්න පුළුවන්. තවත් කෙනෙකු විසින් කඩල, බිඳල විනාස කරන්න පුළුවන්. අනිච්චයි. ආස්වාද මාත්‍රයක් දීල, ආදීනව කන්දක් ගෙනත් දෙන එකක්.** අපි මේක හොඳයි වටිනවයි කියන්නේ, "මට විතරක් නෙවෙයි, කාට ඇසක් ලැබුනත් ඒ ඇස් ඔක්කොම එහෙමයි..." කියල තමන්ගෙ ඇස ගැන නොබලා අනිත් අයගෙ ඇස් සමග සන්සන්දනය කරන නිසයි, සාපේක්ෂව බලන නිසයි. නිරපේක්ෂව බැලුවොත් මේ ඇස ගිනි කන්දක්.

රාග නිශ්‍රිත රූප පෙන්වා රාග ගිනි දෙනවා. ද්වේශ සහගත රූප පෙන්වා ද්වේශ ගිනි දෙනවා. මෝහ සහගත රූප (තෝරා බේරා ගන්න බැරි ප්‍රෙහේලිකා වැනි රූප) පෙන්වා මුලා ගිනි දෙනවා. ඇසක් ගොඩනගා ගන්න විඳින දුක් ගිනි (ජාති ගිනි) දෙනවා. ලෙඩ දුක් හැදිල ව්‍යාධි ගිනි දෙනවා. වයස් ගතවෙන කොට රූපය වැහැරිලා ජරා ගිනි දෙනවා. හැඬීම්, වැලපීම්, සෝක ගිනි දෙනවා. දුකයි. මෙබඳු ඇසක් මතු මතුත් පත පතා දුක් විඳින එක නුවණක් තියෙන අය විසින් කළ යුතු හොඳ අර්ථවත් දෙයක්ද? ඒකෙ හරයක් නෑ අනත්තයි කියල තේරුම් ගන්න ඕන.

"අනිච්චං බයට්ඨෙන දුක්ඛං භයට්ඨෙන අනත්තං අසාරකට්ඨෙනා" ති කියල පටිසම්භිදා මග්ගප්ප්‍රකරණයේ සඳහන් වෙන පරිදි අනිච්ච, දුක්ඛ, අනත්ත කියන ත්‍රිලක්ෂණයට බුදු පියාණන් වහන්සේ දුන් අර්ථ විවරණය නම් අනිත්‍යයි, වෙනස් වෙනවා, අන්‍ය තත්වයට පත්වෙනවා කියන අද බොහෝ විට අහන්න ලැබෙන විවරණය නොවන බව පැහැදිලියි.

**බය කියන්නේ ක්ෂය වෙනවා, ගෙවිල වැනසිලා යනවා, වටිනාකම අඩු වෙනවා, ගුණාත්මක බව නැතිවෙනවා කියන අර්තයන් තියෙන වචනයක්. අපි ප්‍රිය කරන යමක් එපා වෙන්නේ එහි ක්ෂය වීම, වැනසී යාම, වටිනකම අඩුවීම, ගුණාත්මක බව නැතිවීම ආදී කරුණු නිසයි.** ඒ අනුව ඇස පිළිබඳව ගැඹුරින් විමර්ශනාත්මකව බැලීමෙන් තමයි එහි යථා තත්වය දකින්නේ. වෙනස්වීම කියන සරල අර්ථයෙන් බැලුවම තරුණ ඇස ආස්වාද ජනකයි, සසර දුක දකින්න හේතුවක් පේන්නෙ නෑ.

ඒ නිසා මගේ හිතවතා කියල බැඳෙන්නෙවත්, මගේ සතුරා කියල ගැටෙන්නෙවත්, කවුද, මොනවද දන්නෙ නෑ කියල මුලා සහගතව හොය හොයා යන්නෙවත් නැතිව, අනිච්ච, දුක්ඛ, අනත්ත ලෝකෙ මොනවා කොහේ තිබුණත් මොන තරම් මන බඳින ස්වරූපයෙන් තිබුණත්, ඒවායේ මොන වටිනාකම් තිබුණත්, මොහොතින් මොහොත ගෙවි ගෙවී ගොස්, වැනසීමට, විනාසයට පත්වන දේවල් පමණයි තියෙන්නෙ, එසේ නොවන ධර්මතාවයකින් යුත් කිසිවක් මේ තුන් ලෝකයේ කොතනකවත් ඇත්තෙ නෑ කියල නුවණින් දකින්න ඕන. මේ ටික නුවණින් දකින්න නම් හැම සංඛතයක්ම (සකස් වුන දෙයක්ම) අනිච්ච, දුක්ඛ, අනත්ත බව දකින්න ඕන. ඒවා උදයංගම, අත්තංගම, ආස්වාද, ආදීනව, නිස්සරණ කියන අවස්ථා ගොනුවක් බව දකින්න ඕන. උදයංගම, අත්තංගම, ආස්වාද අවස්ථා ප්‍රියමනාපයි. ආදීනව, නිස්සරණ අවස්ථා අනිච්චයි, දුකයි.

**කවුද, මොනවද දන්නෙ නෑ කියන අපේ කුතුහලය නිසා ලෝකෙ තියෙන බොහෝ දේවල් දැක බලාගන්න ඕන කියන මානසිකත්වයක් අපට ඇති වෙනවා.** හොඳයි එහෙම බලාගෙන ආව කියමු. ඒවා බලාගෙන එන්න වියදම් කරපු මුදල් හම්බකර ගත්තෙ සැප විඳලද දුක් විඳලද? බලාගෙන ආපු දේවල්වලින් යම් දැනුමක් ලැබුව නම් මරණයෙන් පසු ඊළඟ අත් බැවට ඒ දැනුමෙන් කොච්චරක් අරගෙන යනවද? මනුස්සයෙක්ම

වෙලා ඉපදුනත්, ආයෙ දුක් විඳගෙන ඉපදිලා, හැදිල වැඩිල, ළදරු පන්තියේ (මොන්ටිසෝරියෙ) ඉඳන් යන්නෙ නැතුව, මහාචාර්‍ය පදවියක් නෙවෙයි ඊට මෙහා ලෝක සම්මත තත්ත්ව තානාන්තරයක්වත් ගන්න පුළුවන්ද?

බුදු හාමුදුරුවො දේශනා කරල තියෙන්නෙ, මේ මිනිස් අත්බැව ලබන අයගෙන් ඊළඟ අත්බැව සුගතියක උපදින්නෙ නිය පිටට ගත් පස් පිඩක් පමණ පිරිසක් පමණයි කියල. අන්‍යයන් මහපොලොවෙ තියෙන ඉතිරි පස් වගේ උපදින්නෙ නරකාදී සතර අපායවල. (සං:නි:5-2, 350 පිටුව, <u>මනුස්ස චුති සූත්‍රය</u>) ආස්වාදයේ බැඳෙන සත්වයෝ හොඳින් හෝ නරකින් ඒ ආස්වාදයන් ලබා ගන්න පොර කකා පව් රැස් කරනවා. ඉතින් තිරිසනෙක් වෙලා උපන්නොත් පෙර අත් බවයේ රැස් කරගත්තු දැනුමෙන් මොන ඵලයක්ද? මේ මේ දේවල් මම දැක්ක කියල ජීවත් වෙලා ඉන්න තුරු මුලා සහගත සතුටක් විඳිනවා. වැඳ පුදගෙන එන්න ගිය අය කී දෙනෙක් නිවන් දැක්ක කියල අහන්න ලැබිල තියෙනවද? සාප්පු සවාරි නොගිහින් වැඳ පුදගෙන ආව අය කී දෙනෙක් ඇත්ද? මේවා කල්පනා කර බැලිය යුතු වැදගත් වටින කාරණා. තල් අත්ත උඩට වැටුන බෙලි ගෙඩියෙ සද්දෙට ලෝකෙ පෙරලෙනවයි කියල හිතපු හාවගෙ කථාව වගේ, ඇත්ත නොදක අන්‍යයනුත් රවටමින් මහා කැරලි ස්වභාවයක් ඇති කරනවා. අන්තිමේදී ලබපු හරවත් දෙයක් නෑ. මතු අත්භවය කොහොමද කියලවත් දන්නෙ නෑ. "මම" කියන්නෙත් ඒ අසාර ලෝකෙම කොටසක්. ඉතින් ලෝකෙ බලන්න ඕන නම්, තමා දෙසම නුවණින් බලන්න ඕන. දිවැස පිරිසිදු කරගත්තු දට ප්‍රඥාවෙන් තමන්ම ඒ ඒ තැන්වල, ඒ ඒ සත්ව නිකායවල ඉපදිලා, සැපයි කියල හිතාගෙන මන වඩන ආස්වාදයන්ද, ඒවා ගෙවිල වැනසිලා යනකොට විඳින අනන්ත දුක් පීඩාවන් ද, ඒවාට හේතු භූත වූ තමාගේම ක්‍රියා කලාපයන්ද දැන ගන්න, දැක ගන්න පුළුවන් වෙනවා.

"රූපං ජීරති මච්චානං - නාම ගොත්තං නජීරතී..." රූපය දිරනවා, මැරෙනවා, නාම ගෝත්‍ර දිරන්නෙ නෑ. මේ තමයි බුද්ධ දේශනාව. හැම දෙයක්ම අනිත්‍යයි, වෙනස් වෙනවා, අන්‍ය තත්වයට පත් වෙනවා කියන කොට, නාම ගෝත්‍රත් හැම දෙයක්ම කියන ගොඩට අයිතියි. නමුත් බුද්ධ දේශනාව අනුව නාම ගෝත්‍ර දිරන්නෙ නෑ.

එහෙනම් අනිත්‍යයි, වෙනස් වෙනවා කිව්වොත් බුද්ධ දේශනාවට පටහැනියි. සාර අසංඛ්‍ය කල්ප ලක්ෂයකට පෙර, සුමේධ තාපස වෙලා ඉඳල නියත විවරණ ලබපු හැටි ඒ ආකාරයෙන්ම දැක්කේ නාම ගෝත්‍ර නොදිරපු නිසයි. මේ නාම ගෝත්‍ර ජීවිතය පවත්වාගෙන යන්න කොච්චර දුරට අත්‍යවශ්‍ය වෙනවද? අපි ඇඳුම් අඳිනවා. "මේ මගේ ඇඳුම" කියල අපි ඒක හඳුනා ගන්නෙ, මීට පෙර ඒක දැකල තිබුණු මතක සටහන නොවෙනස්ව හිතේ තියෙන නිසයි. මතක සටහන (නාම ගෝත්‍රය) වෙනස් වෙලා තිබුණ නම් ඒ ඇඳුම සහ මතක සටහන එකිනෙකට ගැලපෙන්නෙ නෑ. එහෙම වුනොත් අපි ඇසුරු කරන කිසිවක් හෝ කිසිවෙක් නැවත හඳුනා ගන්න ලැබෙන්නෙ නෑ. එහෙම නම් මේ ජීවිතය පවත්වාගෙන යන්න අවශ්‍ය වතුර උගුරක් බොන්නවත් පුළුවන් වෙන්නෙ නෑ. ඒ නිසා සියල්ල අනිත්‍යයි, වෙනස් වෙනවා, අන්‍ය තත්වයට පත්වෙනවා කියන පදනම, සියලු ආකාරයෙන් සසර දුකයි කියල වටහා ගන්න ඉවහල් වෙන්නෙ නෑ. තරුණයෙක් තරුණ පෙම්වතිය සමග අතිනත ගෙන මල් වත්තක ඇවිදගෙන ගියා කියල හිතමු. මේ දෙන්නා හවසට වෙන් වෙලා තම තමන්ගේ ගෙවල්වලට යනවා. නමුත් නින්දට ගිහින් අතීත මතක සටහන සිහි කරල සතුටු වෙනවා. ඒ දෙන්නා දැන් මල් වත්තෙ ඇත්තෙත් නෑ. අනිත්‍යයි, වෙනස් වෙලා, වෙන්වෙලා ගිහින්. ඒ වුනාට කායික, වාචසික ක්‍රියා සිහි කරල මානසික ආස්වාදයක් ලබමින් සසර දික් කර ගන්නවා (කැමැත්තෙන් බැඳිම නිසා).

නමුත් සංඛාරවල හරයක් නෑ, කැමති විදිහට පවත්වන්න පුළුවන් කමක් නෑ කිව්වොත් අනිච්චයි. අතිනත ගෙන මල් වත්තේ ඇවිදින්න යාමේ සංඛාරය කැමති විදිහට පවත්වන්න බැරි වුනා, හවස් වුනා, වෙන් වෙන්න සිදු වුනා. ඒ මොහොතේ තාවකාලිකව වෙන්වුන නිසා සතුටු වුනාට, තරුණියගේ නිවසට මේක ආරංචි වෙලා, මීට පස්සෙ තනිවම නිවසින් පිට කොහේවත් යන්න එපා කියල තහනමක් පනවනවා. දැන් ආස්වාදය සැප, මධුර වුනාට ආස්වාදය පසුපස ඇදී ආපු ආදීනවය දුකයි. කලින් නොවෙනස්ව පැවතුන මතක සටහන සැප සතුට වුනාට ඒ මතක සටහනම දැන් දුකක් වෙනවා. එතකොට දුක තියෙන්නෙ බාහිර වස්තුවලද, ඒවා වෙනස් වීම තුළද? නැතිනම් අවිද්‍යා සහගතව වෙනස් වන ලෝක පැවතුම් ආස්වාද ජනකයි කියල හිතා ගත්තම මනස ක්‍රියා කරන ආකාරයේද? මේ විදිහට නාම ගෝත්‍ර ආපසු බලාගෙන යන කොට අපි කැමති දේවලුත් ගෙවිල වැනසිලා යනකොට දුක්, සෝක, වැළපීම් වූ හැටි, අපි අකමැති දේවල් අකමැති වුනාට ළඟා වෙලා දුක්, සෝක, වැළපීම් වූ හැටි සිහි කරල බලන්න. එතකොට අනිච්ච වීම සසර පුරාවටම සිදු වුණා නම්, වර්තමානයෙත් සිදු වෙනව නම්, අනාගතයත් එබඳුමයි කියල නුවණින් දකින්න ඕන. එබඳු අනිච්ච ලෝකයක ජාති, ජරා, ව්‍යාධි, මරණ, සෝක, පරිදේව, දුක්, දෞම්නස්, උපායාස විඳිමින් සැරි සැරීමෙන් හරයක් තියෙනවද? එයින් මිදීම සුවදායක නොවේද? එහෙනම් නිවන කියන්නේ අළුතෙන් ලබන තත්වයක් හෝ රැඳී සිටින ස්ථානයක් හෝ නෙවෙයි. පවතින, විඳින දුකෙන් නිදහස් වීමයි කියල අවබෝධ කර ගන්න ඕන.

ජාති ධර්මයන්ට කැමැත්තෙන් බැඳීම හෙවත් ඡන්දරාගයෙන් බැඳීම දුකට මුලයි. කැමති දෙයක් කැමති විදිහට පවත්වා ගන්න බැරි වීම (අනිච්ච වීම) මහා දුකක්. අකමැති දෙයක්, අකමැති වුනාට ලඟාවීම (අනිච්ච වීම) මහා දුකක්. ඇසට පෙනෙන ලණුවක් වගේ දෙයකින් අපිව බැන්දොත්, බැඳිල ඉන්නවා කියල පෙනෙන නිසා ලිහාගෙන හෝ කපාගෙන හෝ නිදහස් වෙන්න උත්සාහ කරනවා. නමුත් අත්හැරල සැරි සරන්න පුළුවන්කම ඇති, ඒ වුනත් අත්හරින්න කැමති නැති ඡන්දරාගය, කැමැත්තෙන් බැඳීම නමැති බැම්ම ඇසට නොපෙනෙන නමුත්, ඇසට පෙනෙන බැමි සියල්ල අභිබවා යන ශක්තිය තියෙන බව ඇත්තක්. අත්හැරිය යුත්තෙත් මේ නොපෙනෙන බැම්මයි, කැමැත්තෙන් බැඳීමයි. කැමැත්ත අතහැරිය නම් ''මම'' කරගන්න, ''මගෙ'' කරගන්න පොරකන්නෙ නෑ. ඒ හේතුවෙන් දස අකුසලයට වැටෙන්නෙ නෑ. සංඛාර ගොඩනගන්නෙ නැත්නම්, සංඛාර පච්චයා විඤ්ඤාණං..... උපාදාන පච්චයා භවෝ, භව පච්චයා ජාති... ආදී වශයෙන් පටිච්ච සමුප්පාද චක්‍රයක් ගොඩ නැගෙන්නෙ නෑ. ජාතියක් නැත්නම් ජරා, මරණ, සෝක, පරිදේව .... කිසිවක් නෑ. සියලු දුකෙන් නිදහස්.

මඩේම ඉපිදිලා, මඩේම වැඩිලා, මඩෙන් උඩට ඇවිත් මඩ නොතැවරිලා, පිපී සුවඳ විහිදන සුපිපි නෙලුමක් වගේ, කාම මඩේම ඉපිදිලා, කාම වස්තු ඇසුරෙහිම වැඩිලා, කාමස්වාද විඳින පිරිස අතරම, කාමයන්හි නොඇලී, නොතැවරී, මිදී අනුපධිශේෂ නිබ්බානයෙන් පිරිනිවන් පාන තුරු රහතන් වහන්සේලා සුවසේ වැඩ ඉන්නවා.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**ඩබ්. ඒ. තිළිණාවතී**
**(විශ්‍රාමික මහජන බැංකු නිලධාරිනී)**
**කඩවත**

# අපට නොපෙනෙන ලෝකය දහම් ඇසින්...

**2 කොටස**

(මෙහි පළමු කොටස පසුගිය කලාපයේ පළවිය.)

අපේ මස් ලේ ඇහැට නොපෙනෙන එහෙත් මේ ලෝකයේ ක්‍රියාත්මක වන අති සූක්ෂම වූත්, සංකීර්ණ වූත් කරුණු ගැන යම් ප්‍රමාණයකට පැහැදිලි කිරීමක් පසු ගිය කලාපයෙන් සිද්ධ කළා. ඒ පිළිබඳව තවත් පැතිකඩවල් කිහිපයක් ඔස්සේ විග්‍රහ කිරීමයි මේ ලිපියෙන් බලාපොරොත්තු වෙන්නේ. ඇත්තටම මේ විෂය ක්ෂේත්‍රය අති විශාල වූත්, අචින්ත්‍ය වූත් විෂයක් නිසා ඒක සාමාන්‍ය ලෝකයාට විග්‍රහ කරල නිම කරන්න පුළුවන් කමක් නෑ. ලොව්තුරා බුදුන් වහන්සේ නමකට පමණයි මේ නොපෙනෙන ලෝකයන් ගැන කිසිදු ආවරණයක් නැතිව සම්පූර්ණ ලෙස දකින්නත්, විග්‍රහ කරන්නත් පුළුවන් වෙන්නේ. ඉන් මෙහා ඉන්න අය තම තමන්ගේ ඥාන ගෝචර මට්ටම්වලින්, දිවැස්, අභිඥා මට්ටම්වලින් තම තමන්ගේ අත්දැකීම් ඔස්සේ ඒවා ලෝකයාට විග්‍රහ කරල දෙනවා. මේ නිසා මේ අචින්ත්‍ය වූ ලෝක විෂය ගැන සියල්ල හොයන්න යනවයි කියන්නේ කවදාවත් කරල ඉවර කරන්න පුළුවන් දෙයක් නෙවෙයි. නමුත් **කර්ම ඵල අදහන, හේතු වාසනාවන්තයින් ලෝකයේ ඉන්න නිසාත්, නොයෙක් විතණ්ඩවාදී භෞතිකවාදී අදහස්වලින් පිරිච්ච කාලයක මනුෂ්‍යයන් නවීන විද්‍යාව මතම පදනම් වෙලා, මේ කියන නොපෙනෙන ගුප්ත ලෝකයන් ගැන විශ්වාස නොකර නොයෙක් දස අකුසල්වල නිරත වෙමින් දෘෂ්ටි ගතිකයන් වී දුගතියට යාමේ අවස්ථාව වැඩි නිසාත්, අවශ්‍ය ප්‍රමාණයට පමණක් මේ පිළිබඳව සාමාන්‍ය දළ අවබෝධයක් ලබාගැනීම වැදගත්.**

අද ලෝකයේ නවීන විද්‍යාවෙන් හොයාගත් දේවල්වලට වඩා සිය දහස් ගුණයක ප්‍රමාණයක් අදින් වසර 2600 කටත් පෙර ලොව්තුරා බුදුන් වහන්සේ බුදු ඇසින් දකල දේශනා කරල තියෙනවා. ඒ වගේම සත්‍යාවබෝධය ලැබූ බුදු සව්වන් මෙන්ම ගුප්ත කරුණු ලෞකික නුවණින් දැනගත් වෙනත් ශ්‍රමණ බ්‍රාහ්මණයන්ද ඒ ඒ අයගේ මට්ටම්වලින් ලෝ තතු ප්‍රකාශ කරල තියෙනවා. ඒ අද වගේ යන්ත්‍රෝපකරණවලින් නෙවෙයි. තමන්ගේ අධ්‍යාත්මික වූ ඥාන බල ශක්තිය උපයෝගී කරගෙනයි. ඒ අධ්‍යාත්මික වූ ශක්තිය ලබාගන්නා හැටි දහමේ විග්‍රහ කරල තියෙනවා. නමුත් ඒ දහම් මග කාලයාගේ ඇවෑමෙන් වැහිල ගියාට පස්සෙ **එවැනි හැකියාවන්ගෙන් යුත් උත්තමයන්ගේ අඩුවක් දක්නට තියෙන නිසා අද එවැනි නොපෙනෙන ලෝකයන් ගැන කියන කොට සමහර උදවියට ඒක සුරංගනා කතාවක් වගේ පේන්න පුළුවන්.** හැබැයි අදත් එදා තරම් නැති වුණාට ඒ නොපෙනෙන ලෝකයන් ගැන දැක බලාගන්න පුළුවන් උදවිය අප්‍රකටව තමන්ගේ අත්දැකීම් ලාභ, කීර්ති, ප්‍රශංසාවන්ගෙන් තොරව ලෝකයාට ප්‍රකාශ කරනවා. හේතු වාසනාවන්තයින් ඒවා නැණ නුවණින් පිළිඅරගෙන මෙලොව පරලොව අභිවෘද්ධිය සලසා ගන්නවා. එවැනි පිංවත් උදවියගේ දැනගැනීම පිණිසයි මේ කෙටි විග්‍රහය.



අපි අද මේ ජීවත් වෙන්නේ මඟුල් සක්වල කියන විශාල ක්ෂේත්‍රයක පිහිටි තල 31 කින් එක් තලයක් වන මනුස්ස ලෝකයේ. මේ වගේ සක්වලවල් දස දහසක් එක සක්වල පොදියක්. මෙබඳු සක්වලවල් කෝටි ලක්ෂයක් තමයි බුද්ධ ක්ෂේත්‍රයක් කියන්නේ. කුඩා සක්වල පොදියක් වූ ඒ දස දහසක් සක්වලවල්වලින් මඟුල් සක්වලේ තමයි ලොව්තුරා බුදුවරයන් වහන්සේ නමක් පහළ වෙන්නේ. එතකොට කෝටි ලක්ෂයක් සක්වලවල්වලට එක මඟුල් සක්වලයි තියෙන්නේ. මේ වගේ දස දහසක් සක්වලවල් කෝටි සංඛ්‍යාතයෙන්, අනන්තා පරිමාණයෙන් මේ විශ්වයේ පිහිටල තියෙනවා. ඒවා අපිට අගෝචරයි. ඒ නිසා ඒ ගැන හොයල වැඩක් නෑ. මේ නිසා අවශ්‍ය ප්‍රමාණයට විතරක් දැනගන්න එක හොඳයි. මේ හැම සක්වලකටම ලෝක ධාතු හෙවත් තල 31 ක් පිහිටනවා. ඒ කියන්නේ සත්ත්වයින් උපදින ස්ථාන 31 ක්. ඒවා නම් වශයෙන් කියනවනම්, සතර අපායයි (නිරය, ප්‍රේත විෂය, තිරිසන් යෝනිය, විනිපාතික අසුර නිකාය), මනුස්ස ලෝකයයි, දිව්‍ය ලෝක 6 යි (චාතුර් මහා රාජිකය, තාවතිංසය, යාමය, තුසිතය, නිම්මාන රතිය, පරනිම්මිත වසවර්තිය), බ්‍රහ්ම ලෝක 20 යි (බ්‍රහ්ම පාරිසජ්ජය, බ්‍රහ්ම පුරෝහිතය, මහා බ්‍රහ්මය, පරිත්තාභය, අප්පමාණාභය, ආභස්සරය, පරිත්ත සුභය, අප්පමාණ සුභය, සුභකින්හකය, වේහප්ඵලය, අසඥ්ඥ සත්තය, අවිහය, අතප්පය, සුදස්සය, සුදස්සීය, අකනිට්ඨය, ආකාසානංචායතනය, විඤ්ඤාණංචායතනය, ආකිංචඤ්ඤායතනය, නේවසඤ්ඤා නාසඤ්ඤායතනය).

අපි ඉන්න මේ මඟුල් සක්වලට අයත් වටේ තියෙන අනෙක් හැම සක්වලකටමත් මේ වගේ තල 31 ක් තියෙනවා. මේ වගේ සක්වලවල් දසදහසකට එක ඉරක් (සූර්යයෙක්) පවතිනවා. දස දහසක් සක්වලවල් වටා සූර්යා කැරකෙනවා. ඒ ඒ සක්වලේ වායුගෝලයට සූර්ය කිරණ වැටෙනකොට ආලෝක සූර්ය මණ්ඩල දහදාහක් ඒ ඒ සක්වලට පේනවා. ඒ සමගම ලෝකත් පොදියට කැරකෙනවා. එතකොට අපි ජීවත් වන මේ මඟුල් සක්වලට අනෙක් සක්වලවල් 9999 න්ම බලපෑම්, සම්බන්ධයන් තියෙනවා. ලග්න දොලහට වෙන් කරන රටාවන් ලෙස පේන්නේ ඒ සක්වලවල් තමයි. මෙයින් එක සක්වලකට ප්‍රධාන ග්‍රහයො 9 දෙනෙක් ඉන්නවා. නවග්‍රහයින් කියන්නෙ ඒවාට තමයි. **ග්‍රහ කියන්නේ ග්‍රහණය කරගත් කියන එකයි.** ග්‍රහණය කරගත්තු දේවල්වල ස්වභාවයන් තමයි මේ නවග්‍රහයින්ගෙන් පෙන්වන්නේ. ඒ ස්වභාවයන් කෙටියෙන් විමසා බලමු.

**රවි - කීර්තිය, ප්‍රසංසාව, ජයග්‍රහණය ග්‍රහණය කරගත්. චන්ද්‍ර - ඡන්දය හෙවත් කැමැත්ත ග්‍රහණය කරගත්. එනම් තමන්ගේ ආත්මාර්ථකාමීත්වයෙන් හදාගත්තු කැමැත්ත, අසුභ දේවල්වලට කැමැත්ත, හොඳ යහපත් දේවල්වලට කැමැත්ත. කුජ - කහට ගතිය ජය ගැනීම. දරදඬු බලාපොරොත්තු ජය ගැනීම. බුධ - බව උදා කරන, දරු ගති ලක්ෂණ උදාකර ගැනීම. උදා:-ඉගෙන ගන්න අවශ්‍ය දේවල් ග්‍රහණය කරගැනීම. ගුරු - විවිධ දත්තයන් පිළිබඳව තමා මෙබඳු දේවල් දන්නවයි කියල මහන්තත්ත්වයෙන් තමා වෙතට ග්‍රහණය කරගැනීම. සිකුරු (ශුක්‍ර) - සුක් + කර - ආස්වාදයන් ග්‍රහණය කරගැනීම. ශනි - හෙණ ග්‍රහණය කරගැනීම, අනුන්ට සාප කරන ඒවා, කෙනෙකුට දුක් කරදර එන විට සතුටු වෙන ගතිය. රාහු - රහස් වැඩ කරල හංගගෙන ඉඳීමේ ගතිය. මේ නිසා තමයි රාහු ග්‍රහයා පේන්නෙ නැත්තේ. කේතු - ක්ෂය වීම සෘතු කිරීම, එනම් ගෙවිල ගියපු දේවල් නැවතත් පටන් ගන්නවා, එක අත්භවයක ක්ෂය වී ගිය කාම සම්පත් නැවතත් පටන් ගන්නවා.**

මේ හැම ග්‍රහයෙකුගේම ක්‍රියාකාරීත්වය දෙපැත්තකින් ක්‍රියාත්මක වෙනවා. එනම් හොඳ නරක ලෙස. උදා:- චන්ද්‍රයා ගත්තොත් අයහපත් දේවල්වලට වගේම යහපත් දේවල්වලටත් තියෙන කැමැත්ත ග්‍රහණය කරගත් ගති ලක්ෂණය තමයි පෙන්නුම් කරන්නේ. එතකොට තමන් කරපු යහපත් දේවල්වල ප්‍රතිඵල එනකොට චන්ද්‍රයාගේ ඒ කියන හොඳ ගති ලක්ෂණයට අදාල කිරණ ඇදිල එනවා. මෙසේ සමනන්තර අනන්තර ප්‍රත්‍යයට අනුවයි ඒ ඒ ප්‍රතිඵල ඇදිල එන්නේ. ඉහත කී ග්‍රහයන් නවදෙනාගෙන් රාහු හා කේතු කියන්නේ ඡායා ග්‍රහයන්. චන්ද්‍රයාත් ආලෝක මණ්ඩලයක් වුවත් ඒ ගැන මතභේද ඇති වෙන්න පුළුවන් නිසා මේ වෙලාවේ විස්තර කරන්නෙ නෑ.

චක්‍ර කියන්නේ කැරකෙනවා කියන එක. ආවාට කියන්නේ එක්තරා ඉඩ ප්‍රමාණයක්. එක්තරා ඉඩ ප්‍රමාණයක කැරකෙන එක තමයි චක්‍රාවාට හෙවත් සක්වල කියල කියන්නේ.

නවීන විද්‍යා මිනුම් අනුව මේ එක සක්වලක සිට තවත් සක්වලකට යන්න ආලෝක වර්ෂ 3.5 ක් ගතවෙනවා. ආලෝකයේ වේගය කියන්නේ තත්පරයට කිලෝ මීටර $3.5 \times 10^6$ ක දුරක්. එනම් ආලෝකයේ වේගයෙන් ගියත් තවත් සක්වලකට යන්න ආලෝක වර්ෂ 3.5 ක් ගත වෙනවා. මේ නිසා ඒක සාමාන්‍ය මනුස්සයෙකුට කරන්න පුළුවන් දෙයක් නෙවෙයි. නමුත් සතර ඍද්ධිපාද වැඩූ අභිඥාලාභීන්ට නම් වක් කළ අතක් දික් කළ සැනින් බඹ ලොවට ගිහින් එන්නත් පුළුවන්.

**ඊළඟට මේ එක සක්වලක් ගත්තම ඒ සක්වලේ තියෙන එක් ලෝකයක එක් රටක කතා කරන භාෂාවක් වගේ, ඒ හා සමාන ආකාරයෙන් කතා කරන මනුස්ස කොට්ඨාශයක් අනෙක් හැම සක්වලකමත් ඊට අදාල ලෝකයේ සමාන රටක ඉන්නවා. උදාහරණ විදිහට ඇමරිකාව ගත්තොත් ඒ වගේ භාෂාවක් කතා කරන පිරිසක් ඉන්න තවත් රටක් තවත් සක්වලක පිහිටනවා. නමුත් ඒ රට නමින් වෙනස් වෙන්න පුළුවන්. මේ වගේ එකම ක්‍රම රටාවකට තමයි ඔය හැම සක්වලක්ම පිහිටන්නේ. අපිට ඒවා ගෝචර කරගන්න තරම් ශක්තියක් නෑ. ඒ තරම් අති විශාල දුරකින් තමයි ඒවා එකින් එකට පිහිටන්නේ.**

ඊලග කාරණය නම් මේ තිස් එක් තලයෙන් මනුස්ස තලය කිව්වම ඒකට මනුස්ස ලෝක 4 ක් අයිති වෙනවා. එනම් උතුරු කුරු දිවයින, ජම්බුද්වීපය, අපර ගෝයානය හා පූර්ව විදේහයයි. සතර දිවයින් කියන්නෙත් මේවටම තමයි. සක්විති රජ කෙනෙක් පහළ වෙන්නේ මේ සතර දිවයිනටම අධිපති වෙලයි. එතකොට මේ දිවයින් හතරම පිහිටල තියෙන්නේ මහා මේරු පර්වතය කේන්ද්‍ර කරගෙනයි. ඒක කාන්දම් පර්වතයක්. ඒ මහා මේරු පර්වතය 2/3 ක් මුහුදේ ගිලිලා. ඒ කියන්නේ මේ මනුස්ස ලෝකයේ තියෙන ජල මුහුද නෙවෙයි. මෙබඳු ලෝක හතරක් අතර පිහිටි ඝන අයිස් මීදුම් පටලවලින් හැදිල තියෙන ප්‍රදේශයක්. කිරි මුහුද කියල පැරැන්නන් මේක හැඳින්නුවා. දෙව් ලොව, බඹ ලොව පටන් මේ මිනිස් ලොවට එන්න හැම තැනින්ම බෑ. සුදු කිරණ ධාරාවකින් උතුරේ පටන් දකුණට තිරස්‍ෂ රේඛායිකව රාත්‍රියට උඩ බලනකොට මේ මාර්ගය මිනිස් ඇහැටත් දැක බලාගන්න පුළුවන්. මේකට පැරැන්නන් ආකාශ ගංගාව කියල කිව්වා. දෙව් බඹුන් ඇවිත් මේ මනුස්ස ලෝකෙට පහත් වෙන්නෙ ඒ මාර්ගයෙන් මධ්‍ය දේශයේ බෝධි මණ්ඩලයට ආසන්න පෙදෙසකින්. ආපසු යන්නෙත් ඒ මාර්ගයෙන්. මහා මේරු පර්වතයේ ඉතිරි 1/3 චුම්භක උතුරට මුහුණලා බැලුවම උතුරු දෙස අහසට දිගු වෙනවා. එනම් කිරි මුහුදින් උඩට මතු වෙනවා. ඒ මැද තමයි චාතුර් මහා රාජිකය නම් දෙව් ලොව තියෙන්නේ. මුදුනෙ තමයි තාවතිංස දෙව්ලොව තියෙන්නේ. කිරි මුහුද කියන කොටසේ හතර පැත්තට මීදුම් කඳන් වට කරමින් අංශක 23.5 බැගින් ආනතව තමයි මිනිස් ලෝක හතර පිහිටන්නේ. **මේ හතරෙන් ලොව්තුරා බුදුවරයන් වහන්සේලාත්, සක්විති රජවරුත් පහළ වෙන්නේ ජම්බුද්වීපයේ තමයි. ජම්බුද්වීපය කිව්වම අද සමහරු හිතන් ඉන්නේ එක රටක් කියලයි. නමුත් ජම්බුද්වීපයට මේ මහද්වීප සියල්ලමත් ඇතුලු සියලු රටවල් අයිති වෙනවා. ඒ ජම්බුද්වීපයේ ලොව්තුරා බුදුන්වහන්සේලා පහලවන දේශය තමයි මධ්‍ය දේශය කියන්නේ. මේ අපේ මහපොළොවේ අගනුවරයි. ඒ නමින් තමයි පෙර කාලයේ ලෝකය හැඳින්වූයේ. ඒ මධ්‍ය දේශයේ ජය ශ්‍රී මහා බෝධි මණ්ඩලය කේන්ද්‍ර කරගෙනයි උන්වහන්සේලා බුදුවන්නේ.**

එතකොට මේ දිවයින් හතරෙන්ම අපි වාසය කරන මේ ජම්බුද්වීපය විශේෂයි. ඒක සංඛාර මූලික කරගෙනයි ගොඩනැගෙන්නේ. නමුත් අනිත් දිවයින් තුන විපාක මූලිකවයි ☞

ගොඩනැගෙන්නේ. ඒවායේ පුණ්‍ය විපාක විඳීම තමයි බොහෝ කොටම සිද්ධ වෙන්නේ. අපට වඩා පුණ්‍ය සෘද්ධි වැඩියි. හැබැයි මේ වගේ මස් ලේවලින්ම තමයි කය හැදිල තියෙන්නේ. දේව කයවල් නෙවෙයි. නමුත් ඒ අයගේ හැඩරුව විවිධාකාරයි. සමහර අයට පෙට්ටි වගේ මුහුණු, දිගටි මුහුණු පිහිටල තියෙනවා. තවත් සමහර අය කුරුමිට්ටො වගේ. කුරු දිවයින කියන්නෙත් ඒකයි. අද ඔය **පිටසක්වලින්, අඟහරු ලෝකෙන් ජීවීන් මෙහාට එනවයි කියල කිව්වට ඒ එන්නේ පිටසක්වලකින් නෙවෙයි. මේ මඟුල් සක්වලේම තියෙන ඔය උතුරු කුරු දිවයිනෙන් තමයි බොහෝ කොටම එන්නේ. ඊට අමතරව අපර ගෝයානයෙනුත් එනවා. ඒ අය එන පියාඹන පීරිසි කියල අද හඳුන්වන යානා හැදිල තියෙන්නේ ඒ අයගේ පුණ්‍ය සෘද්ධිවලින්.** එහෙම නැතිව අපේ වගේ මහන්සිවෙලා හදාගත්ත යානා නෙවෙයි. ඒවායේ අපේ වගේ නිෂ්පාදනාගාර නෑ. ඔක්කොම පුණ්‍ය ශක්තියෙන්මයි පහළ වෙන්නේ. පුණ්‍ය සෘද්ධියෙන් පහළ වුනත් ඒවත් සතර මහා භූතම නිසා සැහැල්ලු ලෝහ ආදියෙන්ද යුක්තයි. ඒවා තාක්ෂණික ක්‍රමවේදයන්ගෙනුත් යුක්තයි. ක්‍රියාකාරීත්වය කිරණ මාධ්‍යයක් නිසා ශබ්දයක් දැනෙන්නෙ නෑ. අධි වේගවත්.

**විද්‍යාවන් හදාරපු අය (ගුප්ත මෙන්ම විවිධ ලෞකික විද්‍යා) උපදිනවා.** ඒ පුණ්‍ය ශක්තීන් ගෙවෙන කල් එහේ ඉන්නවා. එතකොට ඒ අය අපේ ලෝකෙට එන්නේ කලින් මෙහේ ඉඳල අපේ ලෝකෙත් එක්ක තිබිච්ච සම්බන්ධය උඩ. **මොකද ඒ අයත් ප්‍රධාන කොටම අදහන්නේ බුදු දහම. අබුද්ධෝත්පාද කාලයට සෘෂි දහම අදහනවා. ඉතින් මෙහේ ඇවිත් වන්දනාමාන කරගෙන පිං කරගෙන යනවා.** එහෙම නැතිව රටවල් අල්ලන්න මෙහෙ එන්නෙ නෑ. එහෙම මානසිකත්වයක් ඒ අයට නෑ. බුදුහාමුදුරුවොත්, අභිඥාලාභී රහතන් වහන්සේලාත් ඔය කියන ලෝකවලට පිණ්ඩපාත කරන්න වැඩියා. ඒ අයටත් පිං කරන්න අවස්ථාව උදා කරල දෙන්නයි එහෙම වැඩියේ. මේ නිසා ඒ අය බොහොම කැමැත්තෙන් බුදුන්ට, රහතන් වහන්සේලාට ගරු කරනවා.

පුළුවන් සත්තු ඉන්නේ තල දෙකක විතරයි. ඒ තමයි මනුස්ස ලෝකයත්, තිරිසන් අපායත් කියන දෙක. අනෙක් තල 29 ම අපේ මස් ලේ ඇහැට සාමාන්‍යයෙන් ගෝචර වෙන්නෙ නෑ. (අවශ්‍ය පරිසරය සකස් වූ ඇතැම් වෙලාවල්වලට භූත ප්‍රේත කොටස්ද ඇතැම් අයට පේනවා.) නමුත් ධ්‍යාන අභිඥා වගේ විශේෂ ශක්තීන් වඩපු අයට නම් විවිධ මට්ටම්වලින් ඒ ලෝක තල සමග සම්බන්ධ වෙන්න පුළුවන්. ඒ වගේම ඒ ලෝකවල ස්වභාවයන් දැකබලා ගන්නත් පුළුවන්. **නමුත් අද බොහෝ භෞතික වාදී පිරිස්, මේ මිහිපිටම තමයි අපායත්, දේව ලෝකත් තියෙන්නෙ කියල මෙහෙම විපරීත අදහස් ගන්නවා. මොකද පංචේන්ද්‍රියන්ට ගෝචර නොවන දේවල් ඒ අය පිළිගන්න සූදානම් නැති නිසා. නමුත් ඒ නොපෙනෙන ලෝක එහෙම තියෙනවයි කියල සාක්ෂි සහිතව පෙන්වන්න පුළුවන් අවස්ථා මේ වෙන කොට ඕනෑ තරම් ලැබිල තියෙනවා.** මනුස්ස ලෝකයයි තිරිසන් අපායයි ගැන අපි දන්න නිසා ඒ ගැන කතා කරන්න අවශ්‍ය නෑ. අපි බලමු අපිට නොපෙනෙන අනිත් ලෝක මොනවද කියල.



සතර අපාය ගත්තම ප්‍රධාන හතර තමයි තිරිසන්, විනිපාතික අසුර, ප්‍රේත හා නිරය කියන්නේ. මේ හතරෙන් නිරය කියන අපාය මේ ලෝක ධාතු 31 න් ම අපි මේ වාසය කරන පෘථිවි තලයේ පතුලටම සම්බන්ධ වෙලයි පිහිටන්නේ. මේ නිසා අනෙක් ලෝක ධාතු සියල්ලගේම ජීවත් වන දෙවියන් බඹුන් ඇතුළු සියල්ලමත් මේ අපායේ උප්පත්තියට එනව නම්, මේ හරහා තමයි යන්න ඕන. හැබැයි තිරිසන් සතුන් නම් අපි අර කලින් කියපු උතුරු කුරු දිවයින වගේ අනිත් මනුස්ස ලෝකවලත් ඉපදෙනවා. කාටවත් කරදර නොකර සාමයෙන්, සමාදානයෙන්, කවුරුවත් සමග ගැටෙන්න කැමති නැති, කාමයෙන් මුසපත් වූ පිරිස් තිරිසන් වෙලා එහි උපදිනවා.

ඒවා කර්ම ශක්තිය මුල්වෙලා පහළ වන උතුජ රූප කලාපවලින්මයි මැවෙන්නේ. මොකද ඒ ලෝකවල ඉපදෙන්න කලින් ඒ අය මෙහේ ඉඳෙද්දී වඩපු සංඛාරයන් තියෙනවා. එනම් මේ **අපේ මනුස්ස ලෝකෙ ගහමරා ගැනීම්, කපා කොටා ගැනීම්, අනුන්ට හිංගි හිංසා කිරීම් ආදී දේවල් බලාගෙන ඉඳල මොකටද, ආයෙ නම් මේ වගේ තැනක ඉපදෙන්න එපා කියල අදහස ගන්නවා. නමුත් මිනිස් ගති සහිත කාම සංස්කාර ගොඩනැගෙනවා. ඒ අදහස අනුව කාටවත් හිංගි හිංසා කරල ජීවත් නොවී ඉන්න, පුණ්‍ය සෘද්ධිවලින්ම පහල වෙච්ච ඔය කියන උතුරු කුරු දිවයිනේ ගිහින් උපදිනවා. අපරගෝයානයේ උපදින්නේ ධාර්මිකව සාමයෙන් නොයෙක් ගවේශණයන් ගැන හොයන්න ආසාකරන උදවියයි. පූර්ව විදේහයේ නොයෙක්**

හැබැයි ඔය කියන උතුරු කුරු දිවයිනේ ඉන්න මිනිස්සු මෙහාට ආවට අපිට එහෙ යන්න බෑ. මොකද ඒ තියෙන පුණ්‍ය සෘද්ධි ශක්තිය අපිට නෑ. ඔය දිවයින් අපේ නිරක්ෂ රේඛාවෙන් පිටතින් තමයි පිහිටල තියෙන්නේ. ඒවා හිම වලාකුළුවලින් වට වෙලා මහා ඝන අයිස් කඳුවලින් එහා තමයි පිහිටල තියෙන්නේ. ඉතින් ඒ තරම් දුරක් ඒ තරම් බාධක මැඩගෙන යන්න අපට ශක්තියක් හෝ යන්ත්‍ර සූත්‍ර නෑ. ඒවා පසු කරගෙන විනිවිද යන්න රේඩාර් වැනි කිරණවලට බෑ. ඒ නිසා දැකබලා ගන්න, ඡායාරූප ගන්න බෑ. සක්විති රජ කෙනෙකුට නම් ඒ දිවයින් හතර වටේටම පුණ්‍ය සෘද්ධියෙන් යන්න පුළුවන්.

මේ තිස්එක් තලය ගත්තම අපට සාමාන්‍ය මස් ලේ ඇහින් දැකබලාගන්න

ඊළඟට මේ කියන නිරයෙන් පහළම කොටස අට මහා නිරය කියල තවත් තට්ටු අටකින් සමන්විත වෙනවා. සංජීවය, කාලසූත්‍රය, සංඝාතය, රෞරවය, මහා රෞරවය, තාපය, ප්‍රතාපය, අවීචිය තමයි ඒ අට. ඒක තමයි මේ ☞

මහපොලවේ යටින්ම සම්බන්ධ වෙලා තියෙන ලෝහමය ඝනීභවන තට්ටුව. ඒක තනිකරම ලෝහමය පැතිකඩවල්වලින් ඝනීභවන වෙලයි තියෙන්නේ. අධික උෂ්ණත්වයට ඔරොත්තු දෙන උණු නොවන ස්වභාවයක් එතන තියෙනවා.

ජම්බුද්වීපය නමින් හඳුන්වන මේ පෘථිවි තලය මූලිකව ගොඩනැගුණ, කල්පාරම්භයේ මුලින්ම පොළොව ගොඩනැගීම ආරම්භ වූ පෙදෙසයි මේ මධ්‍ය දේශය කියන්නේ. අද ඉන්දියාව හා ලංකාව එදා එකම රටක් නිසා නියම මධ්‍යස්ථානය මේ තුළ යම් තැනක විය යුතුයි. එයිනුත් මධ්‍ය ලක්ෂය ලොව්තුරා බුදුවරුන් පහළ වන ජය ශ්‍රී මහා බෝධීන් වහන්සේ පහළ වන ස්ථානයයි. මේ පෘථිවියට මහද්වීප හයක් තියෙනවා. ඒවා වතුරෙ පාවෙන පොල් ගෙඩි වගේ පෘථිවි මුහුදේ ජලය මතයි තියෙන්නේ. වසර කෝටි සියයකට පමණ වරක් එක මහද්වීපයක් මුහුදේ ගිලා බසිනවා. පෙර ගිලා බැස තිබුණු මහද්වීපය උඩට මතු වෙනවා. ඒ නිසා මහද්වීප පහයි අපට නිතර දකින්න ලැබෙන්නේ. මේවාට සම්බන්ධව ලංව පිහිටමින් කුඩා දිවයින් 2000 ක් මේ පෘථිවියේ තියෙනවා. මේ ගොඩබිම ඔසවා තබන්නේ මුහුදු ජලයෙන්. මේ ජලයට යටින් දියර වූ ඝනීභවන කාබනික තට්ටුවක් තියෙනවා. ඊට යට ශෛලමයයි. ඊටත් යට ලෝහමයයි. අට මහා නිරය පිහිටා තියෙන්නේ ඒ ලෝහ ගෝලය තුළයි. එතකොට ඒ අපායත් මේ පෘථිවියටමයි සම්බන්ධ වෙන්නේ. මේ නිසා මේ ලෝකය කැරකැවෙනකොට ඔය කියන අපායවල් එක්කම එක පොදියට කැරකැවෙනවා.

**මේ කියන අට මහා නිරයෙන් යටින්ම පිහිටල තියෙන භයානකම එක තමයි අවීචි මහා නරකාදිය කියන්නේ. පංච ආනන්තරීය පාපකර්ම කරපු අය එතැන ගිහින් තමයි උපදින්නේ. මේ අවීචි මහා නරකාදියේදී සිතිවිල්ලක් ගන්නවත්, හුස්ම පොදක් ගන්නවත් ඉඩක් නෑ. ඒවාට වීතියක් නෑ. දුකෙන් පොඩ්ඩක් හරි නිදහස් වෙලා කෑ ගහන්නවත් ඉඩක් නෑ. මහා ගිනි විතරයි දකින්න තියෙන්නේ. ගින්දර යම් තරමකටද ගිනි ගන්නා පුද්ගලයත් ඒ තරමටම ගිනියම් වෙලා. ගින්දරයි පුද්ගලයයි අඳුනගන්නවත් බෑ. ගින්නෙ ගානටම කර්මජ කය රත්වෙලා. තවත් අය ඉන්නවද කියල හිතාගන්නවත් බෑ. ඒවායේ ගිනි සිළු නෑ. ගිනි ජාලාවම එක වගේ. ආයු කාලයත් කල්ප ගණන්. කවද ගෙවිල ඉවර වෙයිද කියල කියන්නත් බෑ. මේ කියන්නේ දන් පින් දීල බේරගන්න පුළුවන් තැනක්වත් නෙවෙයි. කර්ම ශක්තිය ගෙවෙනකල්ම විඳවනවා. පිච්චුනාට මැරෙන්නෙ නෑ. හරියට පැට්‍රොමැක්ස් ලාම්පුවේ මැන්ටලය වගේ. කර්ම ශක්තියෙන් කය පිච්චි පිච්චී පවත්වනවා.**

ඊළඟට මේ අවීචි මහා නරකාදිය පෘථිවිය මතුපිටට විවෘත වෙන තැනක් තියෙනවා. ඒක අවීතිය ඇතුළු අට මහා නිරයටම සම්බන්ධ කපාටයක්. ඒකට වඩබාව, මකර කට කියලත් කියනවා. අද බර්මියුඩා ත්‍රිකෝණය කියල හඳුනගෙන තියෙන්නෙත් ඔය කියන තැන තමයි. නමුත් ඒක විද්‍යාඥයො දන්නෙ නෑ. **අවීතියේ ගින්නකට එහෙම අහු වුනොත් කිසිම පුද්ගලයෙකුට ඒ සීමාවේ ඉන්න බෑ. ඒ වඩබා කියන ස්ථානයෙන් අවීතියේ දොර ඇරිලා මුහුද මැද එක්තරා ස්ථානයකදී සම්බන්ධ වෙනවා. දවසකට වරක් අවීතියෙන් පිටවන ගිනි සැර එළියට ඇදල දාන්නේ මෙතනින් තමයි.** ඒ සැර උඩට එනකොට කට විවෘත වෙනවා. දවසකට සැරයක් විවෘත වෙලා නැවතත් වැහෙනවා. එතැනදී ලොකු පීඩනයක් ඇති වෙනවා. මුහුදු වතුර වේගයෙන් ඒ ස්ථානයට යනකොට ඒ අහලකටවත් යන්න බෑ. ඒකෙ තියෙන අධික උෂ්ණත්වයෙන් වාෂ්පත් වාෂ්ප වෙලා යනවා. ඒ තරම් විශාල කම්පනයක් ඇතිකරගෙන විශාල වාෂ්ප ගුලියක් හැදිල වතුර දෙබෑකරගෙන වටේ කැරකිලා යනවා. එතකොට හැම තැනම මහා සුළි හටගන්නවා. ඒ පලාතට කාටවත් කිට්ටු වෙන්නවත් බෑ. මේ මකර කට ඇරිච්ච ගමන් අවීතියෙන් පිටවෙන මහා සැර එළියට එනවා. එතකොට ඇතිවන කැලඹීම නිසා තමයි අර සුළි හටගන්නේ. විශාල ප්‍රෝටෝන කදම්බයක් උඩට නැගෙනවා. ඒකට යම් ද්‍රව්‍ය වස්තුවක් ගොදුරු වුනොත් හෙණ දසදහසක් එකවිට වැදුන වගේ ක්ෂණයකින් අළු වෙලා පිච්චිලා යනවා. උල්කාපාත කියල කියන්නේ මෙසේ උණු වී විසිවෙන ද්‍රව්‍ය සහ ලෝහ වර්ගයි. ඒවා ග්‍රහ වස්තු කැබලි නෙවෙයි. මේ විදිහට සුළියක කථාව දැන් විද්‍යාඥයන් චන්ද්‍රිකා තාක්ෂණයෙන් හොයාගෙන තියෙනවා. එහෙම ගත්ත ඡායාරූපවල, නිශ්චල මුහුදේ ඔය කියන සීමාවේ මහා සුළි හයක් කැරකෙන බව පෙන්නුම් කරනවලු. නමුත් ඒවා හැදෙන්නෙ කොහොමද කියල ඒ අය දන්නෙ නෑ. මොකද නිශ්චල මුහුදේ සුළි හටගන්න විදිහක් නෑ කියන එක තමයි විද්‍යාඥයන්ගේ මතය. ඒ සුළි තියෙන තැනින් තමයි අවීති මහා නරකාදියේ දොර විවෘත වෙන්නේ. ඒ මොහොතේදී අවීතියේ තියෙන මහා ගිනි සැර එළියට එනකොට මුහුදු ජලය දැවිල වාෂ්ප වෙනවා. ඒවා ධන ආරෝපන බවට පත්වෙනවා. මේ තමයි ඇතිවන ස්වභාවයක හැටි.

ඊළඟට මේ අවීති මහා නරකාදියට ඉහළින් තවත් නිරයවල් 7 ක් පිහිටල තියෙනවා. ඒවා යට ඉඳන් උඩට යන්න දඬුවම් අඩු වන විදිහටයි හැදිල තියෙන්නේ. නමුත් මේ අටම ගත්තොත් මහා ගිනි, ලෝදිය කන ස්වභාවයක් තමයි තියෙන්නේ. <u>දේව දූත සූත්‍රයේ</u> මේ පිළිබඳව විග්‍රහ වෙනවා. **වරක් කෝකාලික කියන භික්ෂුවක් සැරියුත් මුගලන් අගසව් දෙනමට අපහාස කරල, ඒ විපාකයෙන් අට මහා නිරයෙන් එකක් වන සංඝාතක නිරයේ උපන් බව සඳහන් වෙනවා.**

මේ අට මහා නිරයට ඉහළින් තියෙන ඒ තරම්ම බරපතල නැතත් මහා දඬුවම් විඳින නරකය තමයි ඔසුපත් නරකය කියන්නේ. ඒකට අපායවල් එකසිය ගණනක් විවිධ පැතිකඩවල්වලින් සම්බන්ධ වෙලා පිහිටනවා. ඒවායේ දඬුවම් ස්වභාවයන් එකිනෙකට වෙනස්. **ඖෂධ ප්‍රත්‍ය වෙනවයි කියන එකයි ඔසුපත් කියන එකෙන් අදහස් වෙන්නේ. ඒ කියන්නේ යම් කිසි කෙනෙක් පින් දීලා අනුමෝදන් කළොත් ගැලවෙන්න අවස්ථාව තියෙන තැනක්. හැබැයි ඒ අවස්ථාව තියෙන්නෙත් ඔසුපත් නරකයේ සමහර කොටස්වලට විතරයි. ඒ කියන්නෙ සමහර තැන් තියෙනවා දැඩි දඬුවම් නිසා සිහි කල්පනාවක්වත් ගන්න බෑ. එතැන කර්ම ශක්තිය ගෙවිල ඉවර වුනාම ඔසුපත් නරකයේම සිහි ගන්න පුළුවන්, ටිකක් නිදහස් තැනක් ලැබෙනවා. ඒ වෙලාවට පිං අනුමෝදන් කරන කොට යොමු වෙනවා. එතකොට එතැනින් නිදහස් වෙනවා. පොළොවේ කිරණ විවරයක් හැදිල විවිධ සතුන් ලෙස පටිසන්ධි ලැබූ ගන්ධබ්බයෝ පොකුරු පිටින් මේ පොළොව මතට එනවා. හරියට**

27 වෙනි පිටුවට...

**අභයරතනාලංකාරය - 13**

# මහා බලගතු බුද්ධ බල යන්ත්‍ර හතරක්...



*(පසුගිය කලාපයෙන් - යේසුස් වහන්සේ මුණගැසුණු අවස්ථාවක්....)*

**- වහරක අභයරතනාලංකාර හිමි**

ලෝකෝත්තර ලෞකික මේ මොන මාර්ගයේ ගමන් කළත් ලෝක පැවැත්ම තුළ පින්වතුන්ට විඳින්න සිද්ධ වෙන අනේක විධ මාරක බාධක, අපල උපද්‍රව ආදී දහසක් ආපදාවන් ධර්මානුකූලව මැඩ පවත්වා, සියලු අභිවෘද්ධීන් සලසන මහා බලගතු බුද්ධ බල යන්ත්‍ර හතරක් පහසුවෙන් සකස් කරගන්නා ආකාරය බොහෝ පින්වත් පිරිසකගේ යහපත උදෙසා මෙසේ ඉදිරිපත් කරන අතර, පින්වතුන් යන්ත්‍ර මන්ත්‍ර ලෝකයේ අතරමං වී සිටින මෙවන් කාල වකවානුවක මේ නිවැරදි ක්‍රමවේදය පිළිපැදීමෙන්, ඉදිරියටත් මහත් ප්‍රතිඵල අත් කර ගන්න පුළුවන් කම ලැබේවි. මේ යන්ත්‍ර සකස් කර ගැනීම තමන්ටම හෝ වෙනත් දන්නා කෙනෙකු ලවා හෝ සිදු කර ගන්න පුළුවන්.

ඒ අනුව පසුගිය කලාපයේ පළ කළ මහා බල සම්පන්න අලංකතෝ ගාථා රත්නය ඇතුළු තවත් ගාථා රත්නයන් තුනක් යන්ත්‍ර තහඩුවේ අඳින ආකාරය පහත දක්වා තියෙනවා.

**මේ යන්ත්‍ර ඇඳීමට ගන්නා පන්හිඳ ඊයම්, යකඩ, තඹ, රිදී හා රන් කියන ලෝහ 5 න් හදා ගන්නවනම් ලැබෙන ප්‍රතිඵල ඉතා ඉහළයි.** පන්හිඳ කියන්නේ ප්‍රාණයේ ඉන්දවනවා කියන එකයි. ප්‍රාණයේ ඉන්දවන්න මේ ලෝහ වර්ග 5 යොදා ගන්නෙත් එක්තරා ක්‍රම රටාවකට අනුවයි. පන්හිඳේ සම්පූර්ණ දිග අඟල් 9 ක් විය යුතු අතර එහි ඉහළ කෙළවරේ තිබිය යුත්තේ ඊයම්. ඊයම්වලින් කරන්නේ විශ්වයේ සිට ඇදල එන යම් කිසි ''ඊ'' කියන්නා වූ (අපි ඊයියා යනුවෙන් හඳුන්වන) විස කිලිටි ඇත්නම් ඒවා ''යම්'' හෙවත් යවන එකයි, ඉවත් කරන එකයි. ඊයම්වලට පසුව ගත යුත්තේ යකඩයි. යකඩවලින් කරන්නේ යක්ෂ ගතිය කඩ කරන එකයි. යකඩවලින් පසු ගන්නේ තඹ ලෝහයයි. ඒකෙන් කරන්නේ ස්ථම්භ වශයෙන් පිහිටුවන එකයි. යම් කිසි අයුරකින් ඇද කුද ඇති වන බල දුර්වල වෙන තැන් හදන එකයි. එනම් ඍජු ගතියයි. තඹවලින් පසු රිදී ලෝහය ඈඳා ගත යුතුයි. රිදීවලින් තමයි ඍද්ධි ගුණය මතු කරල දෙන්නේ. අවසානයට පන්හිඳේ ලියන කෙළවරට යොදාගත යුත්තේ රන් ලෝහයයි. යන්ත්‍රය මත ලියන්නේ මේ රන් තුඩෙන්. රණ කියන්නේ සටන්කාමී බවයි. අරණ කියන්නේ එසේ නැති සාමකාමී බවයි. ස්ව + අරණ = ස්වර්ණ කියන්නේ තමා ළඟ සටන්කාමීත්වයක් නැති බවයි. එනම් හිතේ නිදහස් ස්වභාවයයි. මේ ආදී වශයෙන් ඊයම්, යකඩ, තඹ, රිදී හරහා රන්වලට එන විට නිදහස් මානසිකත්වය ඇති වෙලා ලියන යන්ත්‍රයේ බල ඉතා හොඳින් පිහිටනවා. මෙහිදී අඟල් 9 ක පන්හිඳේ දිගට ලෝහ වර්ග 5 සමාන අනුපාතවලින් යුතුව තිබීම අවශ්‍ය නෑ. විවිධ දිග අනුපාතවලට ගන්න පුළුවන්. නමුත් අනුපිළිවෙළ නම් පන්හිඳේ ඉහළ සිට ලියවෙන පහළ දෙසට ඉහත අනුපිළිවෙළ අනුවම තිබිය යුතුයි. මෙවැනි පන්හිඳක් වාත්තු වැඩපොළකින් පහසුවෙන්ම හදාගන්න පුළුවන්. තඹ සහ යකඩ එකට නොපෑස්සෙන නිසා පොට (ත්‍රෙඩ්) තද කළ හැකි ලෙස හෝ රිවට් ඇණයක් යොදා හෝ තඹ සහ යකඩ සම්බන්ධ කරගන්න.

පළමුව යන්ත්‍ර අඳින තඹ පත්‍රයක් අරගෙන රන් ආලේප කර අඟල් එක හමාරක් පළල, අඟල් හතර හමාරක් දිග කොටුවක් පහත සටහනේ ඇඳ ඇති යන්ත්‍රය අනුව ඉරි නොකැපෙන සහ නොගෑවෙන ලෙස ඇඳ ගැනීමට හැකි වන සේ ඒ දිග පළලට නූලක් පමණ වාසි තබා කපා ගත යුතුයි. යන්ත්‍රය පළඳින්න බලාපොරොත්තු වන අයගේ නමේ මුලකුරට යෙදෙන සුභ නැකැත් වේලාවක් හෝ කේන්ද්‍රයේ උපන් නැකැතට ගැළපෙන සුභ වේලාවක් හෝ අරගෙන සුභ දිසාවට හැරී සිරස් අතට පළමු ඉරි කැබැල්ල ගසා ඉන් පසු යන්ත්‍රය ඇඳීම තමයි සාම්ප්‍රදායික ක්‍රමය. (තමාගේ උපන් නැකතට හෝ නමේ මුලකුරට ගැලපෙන සම්පත් හෝ පරම මෛත්‍රී යන නැකැත් දෙකෙන් එකක් නම් වඩා හොඳයි.)

ඉන් පසු යන්ත්‍රයේ පෙන්වා තියෙන විදිහට කොටු හෙවත් ගැබ් 44 ක් (අලංකතෝ ගාථා රත්නයට අදාලව) පිහිටන ලෙස යන්ත්‍රය ඇඳගත යුතුයි. මීළඟට පෙර සේම යන්ත්‍රය පළඳවන අයගේ සුභ මොහොතක ගාථාවේ පළමු අකුර වන 'අ' යන්න නියමිත පළමු කොටුවේ සටහන් කර, ඉරිවල නොගෑවෙන ලෙසත් අකුරු අල් නොකර ඒ වෙනුවට බැඳි අකුරු යොදමින් පෙන්වා තියෙන විදිහට ගාථාව ගැබ් කර ගත යුතුයි. කොටුවක් හැර කොටුවක් දකුණු රවුමට අකුරු සටහන් කර ආපසු වම් රවුමට යන්ත්‍රයේ ඇඳ ඇති ආකාරයට අකුරු සටහන් කර ගත යුතු අතර තිත්, කොමා ආදී කිසිම ලකුණක් අමතරව නොයෙදිය යුතුයි. එසේ සටහන් කර ගන්නා ආකාරය මින් මතු රූප සටහන්වලින් අංක යොදා වඩාත් හොඳින් පැහැදිලි කර ඇති අතර එසේ අංක යොදා ඇත්තේ තේරුම් ගැනීමේ පහසුවට පමණක් බව සලකන්න. මේ නිසා කිසි විටකත් යන්ත්‍ර හතඩුවේ අංක නොයෙදිය යුතුයි.

යන්ත්‍රයේ ඉරි ඇඳීමෙන් පසු, අකුරු පිහිටුවන්න පෙර කඩතොලු නැති කුඩා බෝතලයකින් යන්ත්‍රය පොතක් මත තබා මැදීමෙන් වල ගොඩැලි තැන් සම වෙලා අකුරු පිහිටුවා ගන්න පහසු වෙනවා. යන්ත්‍රය මදින බෝතල් කුප්පියේ පළුදු තිබුණොත් හෝ වැලි කැට ආදියක් යන්ත්‍රයට අහුවෙන්න ඉඩ තිබුණොත් අමතර ඉරි, තිත් ආදිය ඇති වෙලා යන්ත්‍ර තහඩුව පළුදු වෙන්න පුළුවන් නිසා

එසේ නොවන ලෙස ප්‍රවේසමෙන් මැද ගත යුතුයි. දැන් මෙසේ සියලු අකුරු පිහිටුවීමෙන් පසු පිරිසිදු රෙදි කඩක් හෝ පුළුන් කැබැල්ලක් හෝ සුදු හඳුන් තෙල්වලින් පොඟවා යන්ත්‍රය උඩ පිරි මැදිය යුතුයි.

මීළඟට අඩි 4 ක් පමණ උස කුඩා මේසයක් හෝ කනප්පුවක් මත සුදු රෙදි කඩක් එළා බුලත් කොළ 07 ක් වටේට, රවුමට හිටින්න ලංකර තබා තුන් නූලක් (නූල් පොටවල් තුනක් තනි නූලක් ලෙස) අරගෙන කෙළවර අඩියක් පමණ දිගට ඉතිරි වෙන්න තබා රවුම් 07ක් යන්ත්‍රය වටා ඔතා, එසේ එතීමෙන් පසු අතට අහුවන නූල් කොටස පුවක් මල් කිණිත්තක හෝ සුදු හඳුන් ලී කැබැල්ලක ඔතා සාදා ගත යුතුයි. (යන්ත්‍රය වටා එතිය යුත්තේ යන්ත්‍රයේ දකුණු පස කෙළවරේ සිට වම් කෙළවර දක්වා තමාගේ පපුව දෙසට වන්නට දඟරයක් ආකාරයෙනි. වඩාත් පහසුවෙන් තේරුම් ගැනීමට මෙයද මින් මතු රූප සටහනකින් දක්වා ඇත.) යන්ත්‍රය ඔතා දිගට ඉතිරි කරපු අඩියක පමණ නූල් කෙළවර සුදු හඳුන් තෙල් හෝ රන් තැඹිලි තෙල් (හඳුන් තෙල් මිශ්‍ර) බඳුනකට දමා ගත යුතුයි.

දැන් ලද පස් මල් (එළ අබ, වී පොරි, සමන් පිච්ච කැකුළු, ඊ තණ සහ සුණු සහල්) සමග සමන් පිච්ච මල් (තිබේ නම් වඩාත් හොඳයි) බුලත් මත විසුරුවා තෙල් බඳුන සහ යන්ත්‍රය ඒ මත තබා, පොල් තෙල් පහනක් ද තබා සුවඳ දුම් හඳුන්කූරු ආදියත් දල්වන්න සකස් කරගෙන, පෙර ලෙසම සුභ වේලාවක සුභ දිසාවක් බලා පහන දල්වා සුවඳ දුම් අල්ලා පිරිසිදු ඇඳුමින් සැරසිය යුතුයි. (පුටුවක ඉඳගැනීම ගැටළුවක් නොවන නමුත් ඉඳගන්නා ආසනය යන්ත්‍රාසනයට අඩියකට වඩා පහත් විය යුතුයි.)

මීළඟට වැඳගෙන නමස්කාරය කියා තිසරණ සමාදානය, තෙරුවන් ගුණ ගායනාව ආදිය සිදු කරගෙන චිත්ත ප්‍රසාදයෙන් ජීවම් නූල එතූ පුවක් මල් කිණිත්ත හෝ හඳුන් ලී කැබැල්ල සුරතින් (දකුණු අතින්) අරගෙන දිෂ්ඨි, ප්‍රාණ, පලිප්පු යන මන්ත්‍ර වෙනුවට දී ඇති ගාථාවලින් 21 බැගින් හෝ 28 බැගින් ගායනා කර, ජීවම් මන්ත්‍රය ලෙස දුන් අලංකතෝ ගාථාව 1008 වරක් ජප කර (මතුරා) ගත යුතුයි (පසුගිය කලාපයෙන් විග්‍රහ කළ පරිදි). මුලින්ම 108 කින් නැගෙන ශක්තිය, බලය මදි නිසයි 1008 වරක් ජීවම් කරන්නේ.

මහන්සියක් ආවොත් හෝ ජීවම නවතා ඉවත් වෙන්න ඕන වුණොත් ''සබ්බේ බුද්ධා බලප්පත්තා'' ගාථාව 3 වරක් කියා නූල පුවක් මල් කිණිත්තේ හෝ හඳුන් ලී කැබැල්ලේ ඔතා නැගිට යා යුතුයි. නැවත ඇවිත් ආරම්භ කරන කොට නූල අරගෙන සබ්බ පාපස්ස ගාථාව 7 වරක් කියා ජීවම් ගාථාව නවතපු තැන සිට ආරම්භ කළ යුතුයි. නවගුණ වැලක් භාවිතා කිරීමෙන් වාර ගණන නොවරදවා කරගන්න පුළුවන්. මේ ආකාරයට 1008 වරක් ජීවම් කර ගත් පසු ජීවම සම්පූර්ණයි.

දැන් පුට මන්ත්‍රය වෙනුවට තියෙන සබ්බේ බුද්ධා බලප්පත්තා ගාථාව 28 වරක් මතුරා, පලිප්පු මන්ත්‍රය වෙනුවට යං දුන් නිමිත්තං ගාථා තුන 28 වරක් මතුරා, සිද්ධි මන්ත්‍රය වෙනුවට අභිවාදන සීලිස්ස යන ගාථාව 28 වාරයක් මතුරා ජීවම කෙළවර කළ යුතුයි. මේ ගාථා 21 වරක් හෝ 28 වරක් කිව්වට වරදක් නෑ. (මෙහිදී ප්‍රශ්නයක් මතු වෙන්න පුළුවන් මුලින් දිට්ඨි, ප්‍රාණ, පලිප්පුවලින් මතුරාගෙන ජීවමෙන් පසුව නැවතත් පලිප්පු කරන්නේ ඇයි කියල. මන්ත්‍රය ජීවම් කරන අතරතුර වෙනත් කතා බහ ආදියෙන් කිලිටි වුනොත් ඒවත් සුද්ධ කරන්නයි එහෙම කරන්නේ.)

ඉන්පසු යන්ත්‍රය වෙලල තියෙන නූල ප්‍රවේසමෙන් ලිහා ගෙන තෙල් බඳුනට දමූ නූල් පොටත් ඉවතට ගත යුතුයි. නූලේ ගෑවුණු තෙල් අතින් මිරිකා නැවත තෙල් බඳුනට නොදමා, නූල හූරා තෙල් අතට අරගෙන හිසේ නළලේ ගා ගත යුතුයි. (ජීවම කරන කෙනා හා යන්ත්‍රය පලඳින කෙනා ළඟ සිටී නම් දෙදෙනාම)

දැන් යන්ත්‍ර තහඩුව රවුමට එතිය යුත්තේ මුලකුර වන 'අ' යන්න පැත්ත අවසානයට එතෙන විදිහට අනිත් පැත්තෙන් පටන් ගෙනයි. (එනම් යන්ත්‍රය නැවත දිගහැරියොත් 'අ' යන්න පැත්ත පළමුවෙන්ම දිගහැරෙන ලෙස) මෙසේ අකුරු ඇතුළට සිටින ලෙස නවගුණ ගාථාව කියමින් ඔතා ගෙන සුරයට බහා, ජීවම් කළ තෙල් ටිකක්ද සුරයට දමා නවගුණ ගාථාව 07 වරක් යන්ත්‍රය දැමූ සුර කොපුව සහ වසන කොපුව යන දෙකම එකට ගෙන මතුරා සුරය වසා ගත යුතුයි. (සුරය රන් හෝ රිදී නම් වඩා හොඳයි)

මීළඟට බුද්ධ උපහාර පූජාවක් හෝ බෝධි පූජාවක් කර ඉෂ්ඨ දේවතාවන් ඇතුලු සියලු දෙවියන්ට මෙන්ම සියලු සත්ත්වයන්ටත් පිං අනුමෝදන් කර (යන්ත්‍රය පළඳින කෙනාත් පූජාවට සම්බන්ධ වෙලා එසේ පූජෝපහාර කළ යුතු අතර යන්ත්‍රය ජීවම් කිරීමෙන් පසු දිනකද මෙය කළ හැකියි.) නව ගුණ ගාථාව හෝ සුදුසු සෙත් ශාන්ති පිරිතක් කියා යන්ත්‍රය පැළඳවිය යුතුයි. පිරිසිදුව හදාගත් නූලක් හෝ චේන් එකක (දම් වැලක) යන්ත්‍රය රඳවා පළඳවන්න පුළුවන්. සෙත් කරනකොට නූල හෝ චේන් පොට දැමූ යන්ත්‍රය, (සුරය) පළඳින අයගේ හිස මත තබා සෙත් කළ යුතු අතර සෙත් කරන පිංවතා ඉහළින් සිටිය යුතුයි. පළඳින අය පැදුරක හෝ පහත් ආසනයක සිටිය යුතුයි. මරු සිටින දිසාව හැර සුභ දිසාවක් බලා පළඳවන අය සහ පළඳින අය යන දෙදෙනාම සිටීම ඉතා හොඳයි.

එතැන් පටන් බුද්ධ ප්‍රමුඛ ආර්ය මහා සංඝ රත්නය සමග තමන් නිතර සිටින සේ සිතමින් පිරිසිදු සුචරිත ගුණයේ කටයුතු කළොත්, වැඩි යහපත සිද්ධ වී මාරක බාධක වැළකී සියලු ජය බලා සිටියදීම ලැබෙන්න පටන් ගන්නවා.

මේ සමඟම නවගුණ යන්ත්‍ර රාජයාත් සකස් කර ඇඳගන්නා හැටි පෙන්වා තියෙනවා. ජීවම් බල පිහිටුවීමේ සියලු කටයුතු සිදු විය යුත්තේ අලංකතෝ යන්ත්‍රයට සිදු කළ (දොස් සමන යන්ත්‍රයට) විදිහටමයි. ජීවම් ගාථාව නවගුණ පාඨයයි. එහි ආරම්භය මෙසේ දැනගත යුතුයි. අද භාවිතා කරන විදිහට මුලටම ඉතිපිසෝ කියල නොකිව යුතුයි. ඉතිපිසෝ කියල පාලි වචනයක් නවගුණ ගාථාවේ නෑ. එසේ භාවිතා කිරීම පසු කලෙකදී සිදු කරගත් අඩු පාඩුවක්. ඒ නිසා කොමාවලින් වෙන් කරපු විදිහට වචන හා ගුණ සජ්ඣායනා කළ යුතුයි.

**ඉතිපි, සෝ, භගවා, අරහං, සම්මා සම්බුද්ධෝ, විජ්ජාචරණ සම්පන්නෝ, සුගතෝ, ලෝකවිදූ, අනුත්තරෝ පුරිස දම්ම සාරථී, සත්ථා දේව මනුස්සානං, බුද්ධෝ, භගවා, ති**

මේ ගාථාවේ මුල පදය ඉති + අපි = ඉතිපි කියා භාෂා රීතියට අනුව, ''මෙසේද ඒ භාග්‍යවතුන් වහන්සේ'' යනුවෙන් අදහස ගත්තත්, ධර්මය විමසා බලන විට ධර්ම විග්‍රහයක් ලෙස ගලා එන අදහසක් පෙන්වන්නේ විමසා බලා තේරුම් ගන්නයි. එනම් මෙහි 'ඉතිපි' කියන්නේ එක වචනයක්. එහි අදහස ඉෂ්ටප්‍රාප්ත වූ කියන එකයි. 'සෝ භගවා' කියන්නේ ඒ භාග්‍යවතුන් වහන්සේ කියන එකයි.

තවද බුදුගුණ අලංකාරය නම් කාව්‍ය ග්‍රන්ථයේ අනුත්තරෝ, පුරිස දම්ම සාරථී කියල, එක ගුණය ගුණ දෙකක් ලෙස පෙන්වා තියෙනවා. එතකොට නවගුණ ගාථාව නෙවෙයි, ඒ ගාථාව දස ගුණ ගාථාවක් වෙනවා. ත්‍රිපිටක ධර්ම ග්‍රන්ථවල මේ ගුණය එකක් ලෙස පෙන්වා තියෙන නිසා ශබ්ද කිරීමේදී එකක් ලෙස සජ්ඣායනය කළ යුතුයි.

සෑම ප්‍රධාන ජීවම් ගාථා අවසානයකදීම ''සබ්බ බුද්ධානුභාවේන - සබ්බ රෝග විනස්සතු - සබ්බ භය විනස්සතු - සබ්බ විත විනස්සතු - සබ්බන්තරාය විනස්සතු - විත බන්ධන විනස්සතු - සබ්බ බුද්ධානු භාවේන සොත්ථි මේ හෝතු සබ්බදා - සොත්ථි තේ හෝතු සබ්බදා'' කියල එක ජීවම්

වාරයක් ලෙස නවගුණ ගාථා වාරයක් පාසා ගත යුතුයි. එනම් ප්‍රධාන ජීවම 1008 ක් නම් මේ ගාථාවත් 1008 වරක් ගත යුතුයි. (මෙහි සබ්බ බුද්ධානු භාවේන යන්නට බුද්ධ රතනානු භාවේන කියලත් ගන්න පුළුවන්. එතකොට මේ දෙකෙන් ගත් එකම, ජීවම අවසාන වන තුරු ගත යුතුයි. තවද මෙය අලංකතෝ ගාථාවෙන් කරන ජීවමටත් සිදු කළ යුතුයි. සර්වාරක්‍ෂක බුද්ධ යන්ත්‍රයට හා මාර පරාජය යන්ත්‍රයට මෙය අවශ්‍ය නොවන්නේ ඒවායේ ජීවම් ගාථාවල මේ කොටස වෙනත් ආකාරයකින් අන්තර් ගත වන නිසයි. නමුත් ඒ යන්ත්‍රවලටත් භාවිතා කළා කියා හොඳක් මිස දොසක් වෙන්නෙ නෑ.)

මේ නවගුණ යන්ත්‍රයට ගැබ් 56 ක් තියෙනවා. ඒ අනුව අකුරු 56 ක් මේ නවගුණ ගාථාවේ තියෙනවා. අකුරු පිහිටුවන්නෙත් කලින් වගේම දකුණු රවුමට කොටුවක් හැර කොටුවක් ගිහින් ආපසු වම් රවුමට ඇවිත් කෙළවර වන ලෙසයි. මේ ක්‍රමය පහතින් ඇඳල තියෙන යන්ත්‍රය බලාගෙන තේරුම් ගන්න.

කිසි විටෙකත් සෙත් යන්ත්‍රයක් පළල වගේ දෙගුණයක්, හතර ගුණයක් ආදී ලෙස ඉරට්ටේ සංඛ්‍යාවකින් නොගත යුතුයි. ඒක දෝෂ සහිතයි. එම නිසා පළලට ගැළපෙන දිග අනුපාතයට 1:1 , 1:3 , 1:5 , 1:7 ආදී ලෙස ගත යුතුයි. ගෙදරක ආරක්‍ෂාවට පහන තියන්න ලොකු යන්ත්‍රයක් හදාගන්න අවශ්‍ය නම් 1:1 අනුපාතයට ගත යුතුයි. එනම් පළල අඟල් 6 නම් දිගත් අඟල් 6 ක් විය යුතුයි.

කුඩා පළඳින යන්ත්‍ර නම් අඟල් 1 1/2 ක් පළල තහඩුවක් ගත්තොත් අඟල් 4 1/2 ක් දිගට ගත්තම එහි අනුපාතය 1:3 වෙනවා. පළල අඟල් 2 ක් ගත්තොත් දිග අඟල් 6 ක් විය යුතුයි. එතකොටත් අනුපාතය 1:3 යි. යන්ත්‍ර ඇඳීමේදී මේ ක්‍රම වෙනස් නොකළ යුතුයි. ඉහත කී අනුපාතයන් ගණන් ගන්නේ යන්ත්‍රය වට කළ ඉරිවලින්. ඒ හැම ඉරක්ම එකට එක නොගෑවෙන්නත්, එකින් එක

## වා, පිත්, සෙම් නිසා ඇතිවන තුන් දොස් රෝග සමනයට,




| 1 අ | 44 කබු | 2 ලං | 43 හි | 3 ක | 42 ස | 4 තො | 41 ණො | 5 වෙ | 40 ම | 6 පි |
|---|---|---|---|---|---|---|---|---|---|---|
| 32 ද | 14 ද | 31 ය | 15 නෙතා | 30 ධා | 16 නි | 29 නි | 17 ය | 28 සු | 18 තො | 39 ස |
| 13 නෙතා | 23 ස | 22 රී | 24 බෙබ | 21 චා | 25 සු | 20 හම | 26 භූ | 19 බ්‍ර | 27 තෙ | 7 ස |
| 33 ණඩං | 12 ස | 34 සො | 11 යය | 35 බ්‍රා | 10 රෙ | 36 හම | 9 ච | 37 ණො | 8 මං | 38 සො |

දොස් සමන යන්ත්‍රයේ අක්ෂර ලියන ආකාරය

## ආරක්ෂාව, මානසික නිරෝගී බව, තීක්ෂණ නුවණ හා නවග්‍රහ අපලවලට



| ඉ 1 | ති 56 | ති 2 | වා 55 | පි 3 | ග 54 | සො 4 |
|---|---|---|---|---|---|---|
| තථා 44 | මබු 14 | ස 43 | ධො 15 | ති 42 | වි 16 | හ 53 |
| ස 13 | පු 35 | නෙනා 23 | රො 34 | සු 24 | ර 41 | භ 5 |
| දෙ 45 | මප 22 | දූ 30 | ක 28 | තත 33 | ජ්ජා 17 | ධො 52 |
| මමා 12 | රි 36 | ලො 27 | වි 29 | ග 25 | සා 40 | ග 6 |
| ව 46 | ස 21 | අ 31 | තො 26 | නු 32 | ච 18 | බු 51 |
| ස 11 | ස 37 | ණා 20 | ද 38 | ර 19 | මම 39 | වා 7 |
| ම 47 | හං 10 | නු 48 | ර 9 | සසා 49 | අ 8 | නං 50 |

### නවගුණ යන්ත්‍රයේ අක්ෂර ලියන ආකාරය

මෙම යන්ත්‍රවල අක්ෂර ලියන ආකාරය දක්වා ඇති සටහන් අකුරු කියවීමේ පහසුවට හා යන්ත්‍රයේ සටහන් කරගැනීමේ පහසුවට සකස් කළ එකක් වන අතර, ඒවායේ දක්වා ඇති ආකාරයට යන්ත්‍රවල කිසි විටෙකත් අංක සටහන් නොකළ යුතුය. ඒවායේ අංක අනුපිළිවෙලට අක්ෂර සටහන් කර ගත යුතුය.

නොකැපෙන්නත් වග බලා ගත යුතු අතර කොටුවක් තුළ අඳින අකුරුත් ඉරිවල නොගැවිය යුතුයි.

නව මහා ගුණ කඳින් සර්ව සම්පූර්ණ වූ බුදු පියාණන් වහන්සේ නමකගේ ශ්‍රී දේහයෙන්, පදුට්ඨ සිතකින් (තරහ සිතකින්) කෙනෙකුට ලේ බිඳක් වත් ඉවත් කළ නොහැකි බවත්, කිසිම උපක්‍රමයකින් දිවි තොර කළ නොහැකි බවත් ත්‍රිපිටක ධර්ම ග්‍රන්ථවල සඳහන් වෙනවා. ඉහත කී ලෙස **නවගුණ යන්ත්‍ර රාජයා හදල පැළඳගෙන හිටපු පින්වතුන් කිහිප දෙනෙකුගේ ජීවිත මහා මාරකවලින් බේරුණ ආකාරය අත්දැකල තියෙන මට වගේම ඒ අත්දැකීම් ලබපු පින්වතුන්ටත් මේ විදියට කැටි කරගත් ගුණ මාත්‍රයක බලය මෙහෙම නම්, ජීවමාන බුදුරජුන් උපක්‍රමයෙන් නැසීමට නොහැකි බව කීම සම්පූර්ණ සත්‍යයක් බවට කිසිම සැකයක් නැති බව සක් සුදක් සේ පැහැදිලියි.**

ඒ සත්‍යතාවයට අත්දුටු සාක්ෂි කිහිපයක් ඉදිරිපත් කරන්න බලාපොරොත්තු වෙන්නේ කිසිම ලාභ, කීර්ති, ප්‍රශංසාවක් සඳහා නොවන අතර, අනන්ත බුද්ධ බල මහිමයේ අගය පින්වතුන්ට පෙන්වා දීම සඳහායි. මේ සත්‍ය අත්දැකීම්වල කිසිම අතිශයෝක්තියක් අඩංගු නෑ. මට වැටහෙන ආකාරයටනම් අතිශයෝක්ති කියන්නේ මනුෂ්‍යයා මුලා කර, රවටන කපටි වැඩ පිළිවෙළක්. බොරු වර්ණනාවලින් යමෙක් රවටනව නම් ඒක මහා අපරාධයක්. මේ කාරණය මේ විදිහට මට වැටහෙන නිසා **මේ පෙන්වන කරුණුවල කිසි තැනෙක අතිශයෝක්ති අඩංගු නෑ.**

මෙන්න ඒ සත්‍ය සිදුවීම් කිහිපයක්. මේ පින්වතුන්ගේ නම් ගම් ආසන්න වශයෙන් දක්වන්නේ

සබ්බ පාපස්ස අකරණං - කුසලස්ස උපසම්පදා
සචිත්ත පරියෝ ද පනං - ඒතං බුද්ධාන සාසනං } (දිෂ්ඨි)

සබ්බීතියෝ විවජ්ජන්තු - සබ්බ රෝග විනස්සතු
මාතේ භවත් වන්තරායෝ - සුඛී දීඝායුකෝ භව } (ප්‍රාණ)

යං කිංචි විත්තං ඉධවා හුරංවා - සග්ගේසුවායං රතනං පණීතං
නනෝ සමං අත්ථි තථාගතේන - ඉදම්පි බුද්ධේ රතනං පණීතං
ඒතේන සච්චේන සුවත්ථි හෝතු } (ප්‍රාණ)

යං දුන් නිමිත්තං අවමංගලංච - යෝචා මනාපෝ සකුණස්ස සද්දෝ
පාපග්ගහෝ දුස්සුපිනං අකන්තං - බුද්ධානු භාවේන විනාසමෙන්තු
යං දුන් නිමිත්තං අවමංගලංච - යෝචා මනාපෝ සකුණස්ස සද්දෝ
පාපග්ගහෝ දුස්සුපිනං අකන්තං - ධම්මානු භාවේන විනාසමෙන්තු
යං දුන් නිමිත්තං අවමංගලංච - යෝචා මනාපෝ සකුණස්ස සද්දෝ
පාපග්ගහෝ දුස්සුපිනං අකන්තං - සංඝානු භාවේන විනාසමෙන්තු } (පලිප්පු)

{ .................(ජීවම් ගාථාව).................. }

සබ්බ බුද්ධානුභාවේන - සබ්බ රෝග විනස්සතු - සබ්බ බය විනස්සතු
සබ්බ වින විනස්සතු - සබ්බන්තරාය විනස්සතු - වින බන්ධන විනස්සතු
සබ්බ බුද්ධානු භාවේන සොත්ථි මේ හෝතු සබ්බදා
සොත්ථි තේ හෝතු සබ්බදා

සබ්බේ බුද්ධා බලප්පත්තා - පච්චේ කානංච යං බලං
අරහංතානං ච තේජේන - රක්ඛං බන්දාමි සබ්බසෝ } (පුය)

{ නැවතත් පලිප්පු මන්ත්‍රය වෙනුවට දී ඇති ගාථාව }

අභිවාදන සීලිස්ස - නිච්චංවද්ධා පචායිනෝ
චත්තාරෝ ධම්මා වඩ්ඩන්ති - ආයුවණ්ණෝ සුඛං බලං } (සිද්ධි)




යන්ත්‍රය ජීවමට පෙර නූල ඔතන ආකාරය

පුද්ගල හුවා දැක්වීම සුදුසු නැති තැන් තියෙන නිසයි.

මේ එක් එබඳු සිදුවීමක් පිළිබඳ සත්‍ය විස්තරයක්. කාලය එක් දහස් නවසිය අනූ ගණන්වල බව මතකයි. හරියටම දිනය මතක නෑ. නමුත් මේ සිදුවීම් විමසන විට නියම කාල සීමාවන් දැන ගන්න පුළුවන්.

එකල මා බෞද්ධ පූජා විධි, වන්දනා මාන, පොහොය පෙහෙවත් සමාදාන ආදී කටයුතු සිද්ධ කළේ කළගෙඩිහේන කියන නිට්ටඹුව ප්‍රදේශයට කිට්ටු ගම්මානයකයි. යක්කල ප්‍රදේශයේ වැදගත් පවුලක පින්වත් පිරිසක් මා විසින් සිදු කළ බෞද්ධ කටයුතුවලට සහභාගී වී සිටියා. විදේශගත වෙලා කාර්මික ශිල්පීය කටයුතු රැකියාව විදිහට කරපු මහත්මයෙක් ඒ පිරිසේ හිටියා. ඒ මහතා ආවාට ගියාට යමක් නොපිළිගන්නා අතර බොහෝ පරීක්ෂා කර නිගමනවලට බහින කෙනෙක්.

ඔහුගේ වැඩිමහල් සහෝදරියකට (එකල වසර 50 ක් පමණ වයස) හෘදයාබාධයක් වැළඳී තිබුණා. බයිපාස් නම් සැත්කමක් හය මසක් යන්න කලින් නොකළොත් ජීවිතය අනතුරු දායක බව වෛද්‍යවරුන්ගේ නිගමනය වෙලා තිබුණා. එක්තරා සමාධි ක්‍රමයකින් ඒ රෝගයට ප්‍රතිකර්ම ක්‍රමයක් එකල ලැබුණා. පේර කොළ ඉස්ම, නා දලු ඉස්ම ආදිය අරගෙන ස්වභාවික කොළ වර්ගවල ඉස්මවලින් බෙහෙතක් හදා පාවිච්චි කරන්න ඇයට උපදෙස් දුන්නා. (මේ ක්‍රමය ඉදිරියේදී බලාපොරොත්තු වන්න.) වල් කැළෑ කොළවලින් කරන විකාර බෙහෙත් කියල ඉහත කී මහත්මයා ඒවා ගණන් ගත්තෙ නෑ. නමුත් පුදුමයක් වගේ මාස කිහිපයකදී රෝගය සම්පූර්ණයෙන්ම සුව වුණා. ඒ අත්දැකීමෙන් සතුටු වෙච්ච ඒ මහතා මා සමග ආශ්‍රයට වැටුනේ තව තවත් පරීක්ෂණ කරන බලාපොරොත්තුවෙන්.

මා එකල ජ්‍යොතිෂය පිළිබඳව විවිධ පර්යේෂණ කළා. කේන්ද්‍ර බැලීම, සුභ නැකැත් සෑදීම, නිවාස දෝෂ බලා සකස් කිරීම ආදී විවිධ ගුප්ත කටයුතු පිළිබඳව පොත් පත් පරිශීලනය කරමින්, ඒවායේ සත්‍ය අසත්‍යතාවය කෙබඳුදැයි විවිධ පැතිකඩවල් ඔස්සේ පර්යේෂණ කිරීම එකල මා අතින් සිද්ධ වුණා.

කේන්ද්‍රයක ග්‍රහ පිහිටීම, මහ දසා, අතුරු දසා, විදසා ආදී ලෙස බලා, ග්‍රහචාරය අනුව කෙබඳු ආකාර ප්‍රතිඵල පෙන්නුම් කරාවිදැයි ඒ ඒ ශාස්ත්‍ර ක්‍රම අනුව බැලීමත්, ග්‍රහයින්ගේ බල දුබල ශක්ති මනින බිංදු ක්‍රමය නම් ජ්‍යොතිෂ ක්‍රමවේද පිළිබඳවත් පරීක්ෂණ කළ අතර එක්තරා අධ්‍යාත්මික සමාධි ක්‍රමයකුත් උපයෝගී කර ගනිමින් විවිධ දෛව තත්ත්වයන් විමසා බැලීමත් එකල පුරුදු කළා.

ඉහත කී මහත්මයාගේ කේන්ද්‍රයක් මා වෙත භාර දුන්නේ එබඳු අනාගත තත්ත්වයන් විමර්ෂනය කර දෙන ලෙස ඉල්ලමින්. ජ්‍යොතිෂ චක්‍රානුසාරයෙනුත් ඔහුට ඉතා ප්‍රබල මාරක කාල සීමාවක් පෙන්නුම් කරපු නිසා ඒ පිළිබඳව ඔහුට කරුණු පෙන්වා දුන්නා. ඒ මහතා

නිතර මගෙන් ඇහුවේ එහෙම කියන්නේ මොන හේතු ක්‍රමවේදයක් මතද කියලයි. මම බොහෝ දුරට ඒ ක්‍රම පිළිබඳ ඔහුට කියා දුන්නා.

ජ්‍යොතිෂය පිළිබඳ හසල දැනුමක් ඇති ඇස්. ඩබ්ලිව් කස්තුරිරත්න මහතාත් ඉහත මහතාගේ ළඟම ඥාතියෙක්. මේ කේන්ද්‍රය පිළිබඳ විමසන බලාපොරොත්තුවෙන් කස්තුරිරත්න මහතා හමුවී කේන්ද්‍රය පරීක්‍ෂා කළාම, ඔහුට ඒ මහතාගෙන් අහන්න ලැබුණෙත් "උඹ හොඳට කාල බීල හිටපන්, පිනක් දහමක් කරගනින්" කියන පිළිතුරයි. ඊට හේතුව මොකක්ද කියල කස්තුරිරත්න මහතාගෙන් ඔහු ඇහුවම, ඉහත කී මාරක කාලය ගැන කියා "උඹව බේර ගන්න බැරි මාරක කීපයකටම අහුවෙනවා, ඊට කරන්න ප්‍රතිකර්මයක් මේ ජ්‍යොතිෂ ක්‍රමය අනුව කියන්න බෑ" කියල මාරකය ස්ථිර ලෙසම සිදුවන බව ඔහුගේ මුහුණටම කියල තිබුණා. එයින් වික්ෂිප්ත වූ ඒ මහතා මා හමුවී මේ සියල්ල කිව්වම, සියලු ලෞකික බල ඉක්ම වූ බුද්ධ බල මහිමය ඔහුගේ මාරකය මැඩ පවත්වන්න බලවත් බව මට පෙනී ගියා. ඊට කළ යුතු ප්‍රතිකර්මයත් මම ඔහුට කිව්වා.

ඉහත කී ක්‍රමවේදයන්ට අනුව රන් පත්‍රයක නවගුණ යන්ත්‍රය ඇඳ, දස දහස් වරක් ජීවම් කර රන් සුරයක බහා, රන් චේන් එකක (දම් වැලක) දමා කරේ පැළඳවිය යුතු බවයි මෙයට රැකවරණය ලෙස මට පෙනී ගියේ. එය ඒ ආකාරයෙන්ම ඉටු කරගත් ඒ මහතා, සමාජයේ අපහාස නොලබා යහපත් සේ කටයුතු කරන කෙනෙක් වුණත්, යම් යම් උත්සව අවස්ථාවල මත් පැන් සාදයන්ද පැවැත්වූවා.

කියා තිබූ මාරකයක් යෙදිල තිබුණු එක් දවසකත් මෙබඳු සාදයක් ඔහු විසින් පැවැත්වූ නිසා ගෙනාපු මත් පැන් මදි වෙලා යක්කල මත්පැන් හලට යන්න යතුරු පැදියට ගොඩ වුණා පමණයි. කිසි දිනක අහන්න නොලැබුණු ගුප්ත හඬක් ඔහුට ඇසුණා. ඒ "යන්න එපා නැවතියන්" කියන හඬයි. තුන් වරක්ම මේ හඬ ඇහිල තිබුණා. මොකක් හෝ කරදරයක ලකුණක් වෙන්න පුළුවන් කියල හිතපු ඔහු ගමන නැවත්තුවා. නිවසේ පටන් විනාඩි 15 ක් 20 ක් ඇතුළත අදාළ මත්පැන් හලට යන්න පුළුවන් දුරක් තමයි ඔහුට තිබුණේ. එවන් සුළු කාලයකදී ගිගුම් දෙන හඬක් ඔහුට ඇසුණා. හරියටම ඒ වෙලාවේ මත්පැන් හල අසළ බෝම්බයක් පුපුරා ගිහින් තිබුණා. ඔහු ඒ වෙලාවේ එහි ගියානම් ඒකාන්තයෙන්ම ඊට ගොදුරුවෙන්න ඉඩ තිබුණා.

ඉන් පසු දින ඔහු මා හමු වෙලා ඒ විස්තරය පැවසුවා. මම ඔහුට, ඉදිරියේදී තව එකක් තියෙන බවත්, ඒකෙනුත් එසේම බේරේවි කියලත් සැනසුම් වදනක් පැවසුවා. පෙර විදේශගත වෙලා හිටපු ඔහුට කොළඹ බැංකුවක මුදල් තැන්පතුවක් තිබුණා. එක් දිනක් ඔහු මුදලක් ගන්න කොළඹ බැංකුවට යන්න හිතාගෙන යතුරු පැදියට ගොඩ වුණා විතරයි. පෙර කියපු විදියටම "යන්න එපා නැවතියන්" කියන ගුප්ත හඬ තුන් වතාවක් ඇසුණා. එදිනත් ඔහු ගමන නොගිහින් නතර වුණා. මේ දිනයේදීම දවල් 11 ට පමණ බැංකුවේ බෝම්බයක් පුපුරා මහා විනාශයක් සිද්ධ වුණා. ඔහු ගියා නම් ඒ වෙලාවේ ඉන්නේ බැංකු ගොඩනැගිල්ල තුළයි. ඒ නිසා ඒකාන්තයෙන් මාරකයට මුහුණ දෙන්න ඉඩ තිබුණා.

මීළඟ දිනත් මා හමු වූ ඒ මහතා සිද්ධ වූ සිද්ධිය ඒ විදිහටම මා හට දැන්වූවා. එදිනත් මට වැටහුන ආකාරයට ඉතිරි මාරකයත් බලවත් බව ඔහුට පවසා, එයින්ද බේරෙන බව කියා අස්වැසුවා. නමුත් තදබලම මාරකයක් බව කිව්වෙ නෑ. මොකක් හෝ විපතක් වෙන්න පුළුවන් බවත්, මාරකය සුළු අනතුරකින් ඉක්ම යන බවත් මට දැනී ගිය නිසා ඒ බව නොකියා, ඉතා හොඳින් ප්‍රවේසම් වන ලෙස ඔහුට අවවාද කළා.

ඒ දිනයත් උදා වුණා. ඔහු ගමනක් යන්න යතුරුපැදියට ගොඩ වුණා පමණයි. "යන්න එපා නැවතියන්" කියන ගුප්ත හඬ නැවතත් ඇසුණා. මේ අවස්ථාවේ දී ඔහුගේ මනසට මේ හඬ වදයක් විදිහට වැටහුණා. ඔහු ඔහුටම මෙහෙම කියා ගත්තා. "මොන කරදරයක්ද ගමනක් යන්න හදන කොට වළක්වන්නේ. වෙන දෙයක් වුණාවේ. මම යනවා" මෙසේ මුමුණමින් ඔහු ගමන යන්න පිටත් වුණා. අතුරු පාරකින් ඇවිත් ප්‍රධාන මාර්ගයට යතුරු පැදිය හැරෙව්වා පමණයි. පාරේ ගිය වාහනයක හැපී ඔහු විසිවී වැටුණා. ඉල ඇට දෙකක් පිපිරිලා වෙනත් තුවාලයක් හෝ ආබාධයක් නොවී ජීවිතය බේරුණා. සති කිහිපයකින් ඒකත් සුව වුණා. මේ විදිහට මාරක 3 ම ඉක්මවා ගියා. විදේශ ආයතනයකින් ඔහුගේ අවශ්‍යතාවය අනුව රැකියාවට එන ලෙස ඉල්ලීමකුත් ලැබුණා. ඔහු ඒ කාලයේ හැටියට උපරිම වැටුප් තලයක් සහිතව විදේශ ගත වුණා.

**බුදු ගුණ මාත්‍රයක බලය මෙච්චර ප්‍රබල බව අත්දැකීම් සහිතව දකින කොට බුදුවරු උපක්‍රමයෙන් නසන්න හෝ ලේ සොලවන්න හෝ බැරි බවට තවත් කවර කතාද? දෙව්දත් තෙර ගල් පෙරලා ගල් පතුරක් වැදී ශ්‍රී පාදයේ තැල්මක් වුණා මිසක් ලේ පිට කරන්න බැරි වුණා. මේ නවගුණ බලය නවග්‍රහ අපල දුරුකරන පළවෙනි (ශ්‍රේෂ්ඨම) ආරක්ෂාව බව මගේ අත්දැකීමයි.**

**අධ්‍යාත්මික වූ නිවන අග්‍ර කරගෙන පැවිදි වෙලා ඉන්න මම, දැන් ඉහත කී සියලු කටයුතු අමතක කර දමා වෙන් වෙලා ඉන්න නිසාත්, ඉහත කී විෂයන් පිළිබඳ දැනීම් බොහෝ දුරට ඉවත්ව ඇති නිසාත්, ඒක අධ්‍යාත්මික නිදහසට බාධාවක් නිසාත්, මේ යන්ත්‍ර මන්ත්‍ර නැකැත් කේන්ද්‍ර බැලීම් ආදිය දැන් කොහොමටවත් කෙරෙන්නෙ නෑ. ඒ නිසා ඒ සඳහා කිසිවෙක් නොපැමිණෙන ලෙසත්, නොවිමසන ලෙසත් කරුණාවෙන් දැනුම් දෙන අතර, මෙසේ විග්‍රහ කර දුන්නේ කැමති කෙනෙකුට ඒවා තමන්ටම කරගන්න අවස්ථාවක් ලබා දීම සඳහා බව සළකන්න.** මෙබඳු නවගුණ බල මහිමයේ රැකවරණ ලබපු අවස්ථා බොහෝ තිබුණත්, ඉන් තවත් එක් සිද්ධියක් පමණක් මේ විදිහට ඉදිරිපත් කරනවා.

මට මතක හැටියට මේ සිද්ධිය සිද්ධ වුණේ වසර 2001 දී පමණ. පොල්ගහවෙල ප්‍රදේශයේ ගිජිදාගම කියන ගම් පියසේ, ගමට වෙන්කර තිබූ පූජනීය ස්ථානයක පන්සලකට අවශ්‍ය අංගෝපාංග සම්පූර්ණ කර දෙමින්, බෞද්ධ වත් පිළිවෙත් මුල් කර ගෙන විවිධ සෙත් ශාන්ති කටයුතු කරමින් හිටපු කාලයක තමයි මේ සිද්ධිය සිද්ධ වුණේ.

නම් ගම් ඉදිරිපත් කරන්නේ ඉතා කෙටියෙන්. දෙවලපොළ නම් ගමේ තිස්ස කියල මහත්මයෙක් එකල මා හමුවන්න පැමිණියා. විටින් විට ටික කලක් මා ඇසුරට පැමිණි ඔහු, තම කේන්ද්‍රය මා වෙත ගෙනත් දුන්නේ අනාගත යමක් ඒ මඟින් දැන ගන්නයි. විදසා ක්‍රමයට සියුම් කාල පරාසයකට බෙදා, දෛවකත්වය විමසන කොට පෙනී ගියේ බලවත් මාරකයක් ඉදිරි දින කිහිපයක් තුළ සිදුවෙන්න ඉඩ තියෙන බවයි. එක්තරා සමාධි ක්‍රමයකිනුත් ඒ පිළිබඳව කරුණු විමසා බලන කොට පෙනී ගියේ, හදිසි වාහන අනතුරක ලකුණුයි. ඔහුට වාහන දෙකක් තිබුණ අතර තම කුඩා දරු දෙන්නත් නිතර ඔහු සමඟ වාහනයේ යන නිසා, මට ඇති වූ එක්තරා අදහසක් අනුව ඒ දරු දෙන්නාගේ කේන්ද්‍ර දෙකත් රැගෙන එන ලෙස ඔහුට දැන්වූවා. මේ දරුවන්ගේ කේන්ද්‍ර විමසා බැලීමේදී ඉහත කී මහතාගේ මාරක කාලය තුළ මේ දරු දෙන්නාටත් මාරක යෙදී තිබුණු ආකාරය මා දුටුවා. මහදසා, අතුරු දසා බලා තවත් සියුම් වූ විදසා චක්‍රවලට ඒ අවස්ථාව සියුම් කර, බින්දු ක්‍රමය නම් ක්‍රම වේදයකින් බැලුවම මේ පියාට හා පුතුන් දෙන්නාට එකම කාල සීමාවක මාරක යෙදී තිබුණු බව පෙනුනා.

**19 වෙනි පිටුවට...**

01. යේ බ්‍රාහ්මණා වේදගු සබ්බ ධම්මේ
තේ මේ නමෝ තේ ච මං පාලයන්තු
නමත්ථු බුද්ධා නං නමත්ථු බෝධියා
නමෝ විමුත්තානං නමෝ විමුත්තියා

02. ජයෝ මුනින්දස්ස සුබෝධි මූලේ
අහෝසි මාරස්ස පරාජයෝහි
උග්ඝෝසයුං දේව ගනා පසන්නා
ඒතේන සච්චේන සුවත්ථි හෝතු

## සියලු ආරක්ෂා, මාර්ග බාධක දුරු වී ජයග්‍රහණයට



| 1 යෙ | 46 යා | 2 බ්‍රා | 45 ත්ති | 3 හම | 44 මු | 4 ණා | 43 වි | 5 වෙ | 42 මො | 6 ද |
|---|---|---|---|---|---|---|---|---|---|---|
| 34 යා | 14 න | 33 ධි | 15 මො | 32 බො | 16 තෙ | 31 ත්ථු | 17 ච | 30 ම | 18 මං | 29 න | 41 න |
| 13 මෙ | 24 ම | 23 න | 25 ත්ථු | 22 න්තු | 26 බු | 21 ය | 27 ද්ධා | 20 ල | 28 නං | 19 පා | 7 ගු |
| 35 න | 12 තෙ | 36 මො | 11 මෙම | 37 වි | 10 ධ | 38 මු | 9 බ්බ | 39 ත්තා | 8 ස | 40 නං |

සර්වාරක්ෂා බුද්ධ යන්ත්‍රයේ අක්ෂර ලියන ආකාරය

## ඕනෑම ජයග්‍රහණයකට



| 1 ජ | 44 තු | 2 යො | 43 හො | 3 මු | 42 ත්ථි | 4 නි | 41 ච | 5 න්ද | 40 සු | 6 ස්ස |
|---|---|---|---|---|---|---|---|---|---|---|
| 32 ස | 14 සි | 31 ප | 15 මා | 30 ණා | 16 ර | 29 ග | 17 ස්ස | 28 ව | 18 ප | 39 න |
| 13 හො | 23 උ | 22 හි | 24 ග්ඝො | 21 යො | 25 ස | 20 ජ | 26 යුං | 19 රා | 27 දෙ | 7 සු |
| 33 න්තා | 12 අ | 34 ඒ | 11 ලෙ | 35 තෙ | 10 මූ | 36 න | 9 ධි | 37 ස | 8 බො | 38 වෙ |

මාර පරාජය යන්ත්‍රයේ අක්ෂර ලියන අංක අනුපිළිවෙල හා ආකාරය

කළ යුතු එකම ප්‍රතිකර්මය තිදෙනාටම නවගුණ යන්ත්‍ර පැළඳවීමයි. පියාට රන්පත් ඉරුවක යන්ත්‍රය ඇඳ, දරු දෙන්නාට රිදී පත් ඉරුවල යන්ත්‍ර ඇඳ නවගුණ ජීවමෙන් දස දහස් වරක් ජීවම් කර පැළඳවිය යුතු බව සමාධි ක්‍රමයකින් දැක ඒ බව පැවසුවාම අප්‍රමාදව එය සාදා දෙන ලෙස ඔහු ඉල්ලා සිටියා. ඒ මහතාට රන් සුරයකින් හා දරු දෙන්නාට රිදී සුර දෙකකින් යන්ත්‍ර තැන්පත් කර පැළඳෙව්වා. කියපු මාරක දිනය ළඟා වුණා. හැබැයි ඒ එබඳු දිනයක් බව හැමෝටම අමතකයි. ඒ මහතාගේ නිවස යම් පමණකින් විශාල කරගන්න, සුදුසු නිවාස වර්ගයකට ගැළපෙන දිග පළල ප්‍රමාණයන්ද සකසා, නිසි වේලාවක් ද, අත්තිවාරම් දමන ක්‍රම ආදියත් කියා දුන්නා. ඒ අනුව බාසුන්නැහෙලා දෙන්නෙක් ගෙන්වා ගෙන ඊට අඩිතාලම දමන කොට තව කෙනෙකුගේ අදහසක් අනුව එක්තරා වෙනසක්ද කර තිබුණා.

ඔහු හවස් වෙන තුරු ඒ කටයුත්ත කර බාසුන්නැහෙලාත් සමඟ වාහනයේ හවස ගියේ, ඒ අයව ගිහින් ඇරලන අදහසින් වෙන්න පුළුවන්. දරු දෙන්නා සහ තවත් මුස්ලිම් ජාතික ළමයෙක් වාහනයේ ගමන් ගත්තා. මුස්ලිම් ජාතික ළමයාගේ උකුලේ ඒ මහතාගේ කුඩා දරුවා (වයස අවුරුදු 6 ක් පමණ වූ) තබාගෙනයි ගියේ. කොළඹ නුවර ප්‍රධාන පාරේ එක්තරා වංගුවකදී කියුබ් තුන හමාරක පමණ ගල් වැලි ගෙන යා හැකි යූක්ලීඩ් නම් බර වාහනයක ඔහුගේ කැබ් රථය හැපුණේ ලිස්සා යන ආකාරයකටයි. වාහනය පාරෙන් ඉවතට පැන විසිවී ගිහින්, පහළ කුඹුරක රෝද උඩු අතට හිටින සේ පෙරළී ගියා. කවුළු අතරින් එළියට පැමිණි ඔහු, තම කරේ තිබුණු යන්ත්‍රය ඉඹිමින් වට පිට බැලුවේ දරු දෙන්නා කොහේද කියලයි. පුදුම සිද්ධියක්. කවුළු අතරින් එළියට ඇවිත් ටික දුරක සිට අත්පුඩි ගසමින් උඩ පනිමින් හිනාවෙන දරු දෙන්නා ඔහුට දකින්න ලැබුණා. කුඩා දරුවා උකුලේ තබා ගෙන හිටපු මුස්ලිම් දරුවාටත් කිසි ආබාධයක් වුණේ නෑ.

නමුත් විවිධ ආපදාවන්ට පත් වූ බාස් උන්නැහෙල දෙන්නා රෝහලට ගෙන ගියා. ඒත් කිසිවෙකුටවත් මාරකයක් වුණේ නෑ. එදිනම රාත්‍රියේ දරු දෙන්නත් රැගෙන ඒ මහතා අනිත් වාහනයෙන් මා හමුවෙන්න පැමිණියේ, ඉහත අනතුරින් දරුවන්ගේ ඇඟ ඇතුළේ හෝ ආබාධයක් ඇත්දැයි අසා දැනගන්නයි. නමුත් දරුවන්ට කිසිම ආබාධයක් වෙලා තිබුණේ නෑ. කුඩු හමක් (උඩු හම) කැඩෙන තරම් සීරීමක්වත් වෙලා තිබුණේ නෑ. මේවා පුදුම අත්දැකීම් හා සිදුවීම්. අනන්ත බුදුබල මහිමයේ ආරක්ෂාව හැර මීට වෙන මොන පිළිතුරක් දෙන්නද? නමුත් මේ සියල්ල ලෞකික ආරක්ෂාවන්. සුදුසු අයට කරගන්න උපදෙස් මාලාවක් තමයි මේ දුන්නේ. මා දැන් සිටින්නේ මේ ලෞකික කටයුතු අතහැර ලෝකෝත්තරත්වයට නැඹුරු වීමේ උතුම් කටයුත්තට හිත තබාගෙන නිසා මෙවැනි කටයුතු කරගන්න මා හමු නොවන්න. මට ඒවා බාධාවක්. දැන් ඒවා කරන්නෙත් නෑ. ඒ නිසා මේ කිසිවකට මා හමු නොවන්න.

ඉහත කී අයුරින් විවිධ ජයග්‍රහණ උදෙසා සකස් කර ගත හැකි බුද්ධ ගාථාවන් ප්‍රස්තාරගත කර යන්ත්‍ර ඇඳ ගන්නා ක්‍රම පසුව පෙන්වා දෙන්න බලාපොරොත්තු වෙනවා. ඉහත ක්‍රමවේදය අනුව යන්ත්‍ර සකස් කරගන්න වැටහෙන පින්වතුන්ට ඉහත (18 වන පිටුවේ) දක්වා තියෙන ගාථා දෙකත් ඒ ක්‍රමයටම සකස් කරගන්න පුළුවන්. වෙනස ඇත්තේ යන්ත්‍රය ගැබ් කළ ගාථාව ජීවම් මන්ත්‍රය ලෙස ගැනීමයි.

මේ යන්ත්‍ර හතරම නිවාස ආරක්ෂාවටත් යොදා ගන්න පුළුවන්. ඒ සඳහා ඉහත හදපු තෙල්වලින් හෝ ඒ තෙල් බින්දු කිහිපයක් ශුද්ධ පොල්තෙල්වලට මිශ්‍ර කරගත් තෙල්වලින් තුනුරුවන් උදෙසා පහනක් වරු තුනක් තබා (උදේ, රෑ, නැවත් උදේ ලෙස) ගෙදර වහලේ හතර කොණ හෝ අට කොණ එල්ලිය යුතුයි. මෙහිදී යන්ත්‍ර 4 හෝ 8 එකම ජීවම් ගාථාවකින් ගන්නේ නම් ඒ යන්ත්‍ර 4 හෝ 8 එක මත එක තබා නූලකින් ඔතා එකටම ජීවම් කළ යුතුයි. පොඩි කුප්පිවලට සඳුන් තෙල් දමා ඒ තුළට යන්ත්‍රය සහිත සුරය දමා වසා කම්බියකින් එසේ එල්ලා ගත යුතුයි.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

**සටහන :-**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# පැහැදිලි කිරීමයි.

හෙළ බොදු පියුම 12 වැනි කලාපයේ අභයරතනාලංකාරය යටතේ පළවූ ''යේසුස් වහන්සේ මුණ ගැසුණු අවස්ථාවක්'' නමැති ලිපියේ 16 වැනි පිටුවේ, පළමු තීරුවේ මැද කොටසේ ''කළු කෙට්ටු කම්කරුවෙක් වමතින් වඩාගෙන'' යන්න දකුණු අතින් කියා නිවැරදි විය යුතු අතර, ''දකුණු අතින් බැටලු පැටියෙක් හෝ හාවෙක් මවා උගේ ඇඟ පිරිමැද්දා'' යන්න බැටළු පැටියෙක් හෝ හා පැටියෙක් ඉන මට්ටමේ උස මේසයක් වැනි දෙයක මවා වම් අතින් උගේ පිට පිරිමැද්දා යනුවෙන් නිවැරදි විය යුතුය. ඇඳ තිබූ රූපයෙත් ඒ ආකාරව තේරුම් ගත යුතුයි.

එසේම එම පිටුවේම තුන්වැනි තීරුවේ උඩ කොටසේ ''මා ලොවට පෙන්වූ දහම බුදුන් වහන්සේ අනුමත කර දේශනා කර තියෙනවා'' යන්න සමහර කෙනෙකුට තේරුම් ගැනීමේ අපහසුතාවයක් තියෙනවා. එයින් අදහස් කළේ බුදුන් වහන්සේ යේසුස් වහන්සේ ගැන කියා ඇති දේශනාවක් ගැන නෙවෙයි.

සබ්බේ තසන්ති දණ්ඩස්ස
සබ්බේ භායන්ති මච්චුනෝ
අත්තානං උපමං කත්වා
න හනෙයිය න ඝාතයේ

සබ්බේ තසන්ති දණ්ඩස්ස
සබ්බේ තං ජීවිතං පියං
අත්තානං උපමං කත්වා
න හනෙයිය න ඝාතයේ

සියල්ලෝම දඬුවමට බයයි.
සියල්ලෝම මරණයට බිය වේ.
සියල්ලෝම තම තමන්ගේ ජීවිතවලට ප්‍රිය කරනවා.
තමා උපමා කර ගෙන නොමරන්න.
ඝාතනය (දඬුවම්) නොකරන්න.

මේ කියන බුද්ධ ගාථාවන් යේසුස් වහන්සේටත් දැනගන්න ලැබී තියෙන්න පුළුවන්. ඒ ගැන යේසුස් වහන්සේ චිත්ත ප්‍රසාදයෙන් කළ අදහස් කිරීමක් තමයි එසේ ප්‍රකාශ කර ගරු කර තියෙන්නේ.

# අර්ථ පටලවා නොගත යුතු තහනම් කළ වෙළඳාම් පහ



බෞද්ධයන්ට තහනම් කරපු වෙළඳාම් පහක් සම්බන්ධයෙන් අපි මෙච්චර කලක් යම් යම් කාරණාවන් අහල තිබුණත්, ඒ පිළිබඳවත් යම් ආකාරයක අර්ථ පටලවා ගැනීම් අද වෙන කොට සිද්ධ වී ඇති බව බුද්ධ දේශනාව විමසිලිමත්ව විග්‍රහ කිරීමේදී දැන ගන්න පුළුවන්. සත්ත්ව වනිජ්ජා, සත්ථ (සැත්) වනිජ්ජා, විස වනිජ්ජා, මංස වනිජ්ජා හා සුරා වනිජ්ජා කියල නුසුදුසු වෙළඳාම් පහක් අංගු. නි. (3) 338 පිටුවේ උපාසක වග්ගයේ එන <u>වනිජ්ජා සූත්‍රයේ</u> දක්වා තියෙනවා. පළමුවෙන්ම සඳහන් කළ යුත්තේ මේ කාරණය බෞද්ධයින් පමණක් නෙවෙයි ලෝක සම්මත අන්‍යාගමික පින්වතුන් ද අනුගමනය කරනවනම් ඉතා යහපත් බවයි.

බුද්ධ දේශනාව නිවැරදිව තේරුම් ගැනීමේදී දැන ගත යුතු වැදගත් කරුණු කිහිපයකුත් තියෙනවා. ශ්‍රාවකයන්ට අර්ථය ගන්න, පහසුවෙන් තේරුම් ගන්න පුළුවන් නම් බුදුන් වහන්සේ එබඳු දේ සම්බන්ධයෙන් අදාළ මාතෘකාව පමණක් දේශනා කරනවා. සමහර විට ශ්‍රාවකයින්ට ගෝචර වන අර්ථ ඇති එබඳු කාරණා බුදුන් වහන්සේ විග්‍රහ නොකර ශ්‍රාවකයන් වහන්සේලා විසින් අර්ථවත්ව ධර්මය තේරුම් ගන්නවා. **''ධම්මෝච යථා ධම්මෝ යථා අත්ථෝ තථා පටිපජ්ජි තබ්බන්තී''** කියන බුද්ධ දේශනාව අනුව ධර්මය ධර්මය හැටියට දැනගෙන, අර්ථවත්ව දැනගෙන ඊට අනුවයි පිළිපදින්න ඕන. යම්කිසි ධර්මයක් දේශනා කළාම ඒක අර්ථවත්ව තේරුම් ගත්තෙ නැතිනම් පැටලෙනවා. ඒ අනුව වචනයේ දහම් අරුත හඟවන පද නිරුක්තිය දැන ගන්න ඕන. එහෙම නොවුණොත් **''යො නිරුක්තිං නජානාතී ජානාති පිටකත්තයං පදේ පදේ විඛංකෙයිය වනේ අන්ධ ගජෝ විය''** කියන බුද්ධ දේශනාව පරිදි යම් කෙනෙක් නිරුක්ති දන්නෙ නැතිව ත්‍රිපිටකයේ වචනවලට අර්ථ දෙන්න ගියොත්, පදයෙන් පදය සැකහැර ගන්න ගිහින්, අන්ධ අලියෙක් කැලේ හැසිරෙනවා වගේ අතරමං වෙනව කියල පෙන්වනවා. එහෙනම් අපි ඒ පෙන්නපු දහම තුළ අර්ථය හා නිරුක්තිය දකින්න ඕන. එහෙම දන්නෙ නැතිනම් අපිට විශාල ගැටලුවලට මුහුණපාන්න සිද්ධ වෙනවා.

උදාහරණ විදියට සතුන් වෙළඳාම (සත්ත්ව වනිජ්ජා) තහනම් කියන කාරණය මාතෘකාව වශයෙන් දීල තියෙනවා. මෙතනදී මොන වර්ගයේ සතුන් වෙළඳාමද තහනම් වෙන්නෙ කියන කාරණය මූලික වශයෙන් තේරුම් ගත යුතුයි. සතුන් වෙළඳාම් කරන්නෙ මොකටද කියල ප්‍රශ්නයක් එන්න පුළුවන් නිසා මේක අපට එකපාරටම තේරුම් ගන්න බැරි වෙන්න පුළුවන්. මොකද අපි සුරතලේටත් සතුන් ඇති කරනවා. ඒ වගේම කරදරයක් නැතිව සතුන්ට ඉන්න තැන් හදල දෙනවා. එසේම සතුන්ට හිංසා පීඩා කරල මරන්න සතුන් වෙළඳාම් කරන ක්‍රමයකුත් තියෙනවා. දැන් මේ දෙකම අත්හැරිය යුතුද, කොයි ක්‍රමය අත්හැරිය යුතු ද කියන කාරණය නිවැරදිව තේරුම් ගත යුතුයි. මේ කාරණය පහසුවෙන් විසඳා ගන්න, තේරුම් ගන්න සත්ථ වනිජ්ජා හෙවත් සැත් වෙළඳාම කියන කාරණය පළමුවෙන්ම විග්‍රහ කර ගැනීමෙන් පුළුවන්.

සැත් වෙළඳාම කිව්වම දැලිපිහිය මිනී මරන්න, කපන්න, කොටන්නත් පාවිච්චි කරනවා. මංකොල්ලකෑම් ආදියටත් නිතරම පාවිච්චි කරනවා. එතකොට මිනීමරු ආයුධයක් විදිහට මෙතනදී ගැළපෙනවා. අපි හිතමු යම් කෙනෙක් අටපිරිකර ආදී පූජා භාණ්ඩ වෙළඳාම් කරන ස්ථානයක දැලිපිහි විකුණනවා කියල. යම්කිසි කෙනෙක් භික්ෂූන් වහන්සේ නමකට පූජා කරන්න දැලි පිහියක් ගන්නවා. එහෙම නැතිනම් හිස බාන කරණවෑමියෙක් දැලි පිහියක් ☞

ගන්නවා. එතකොට වෙළඳාමකුත්, දැලිපිහිය සල්ලිවලට මිලදී ගැනීමකුත් සිද්ධ වුණා. දැන් මෙතනදී සත්ථ වනිජ්ජාවට (සැත් වෙළඳාමට) වැටෙන්නෙ මොකක්ද? මෙහි පළමු අවස්ථාවේදී දැලිපිහිය සැත් වෙළඳාමට අහුවෙන හැටිත්, දෙවන අවස්ථාවේදී එය දැහැමි උපකරණයක් විදිහට පාවිච්චි කරන හැටිත් පහසුවෙන් තේරුම් ගන්න පුළුවන්. නමුත් සැත් වෙළඳාමට කිසිම සැතක් වෙළඳාම් කරන්න එපා කියන මූලධර්මයට වැටිල හිටිය නම් දැලිපිහි විකුණන්නත් බෑ, හාමුදුරුවන්ට දැලිපිහි ගන්නත් බෑ, ගන්න ක්‍රමයකුත් නෑ, හිස රැවුල බාගන්න විදිහකුත් නෑ. එහෙනම් මෙතනදී අර්ථවත්ව විග්‍රහ කරගත යුතුයි, මොන සැත් ද වෙළඳාම් කරන්න එපා කිව්වෙ කියල.

යම් සත්ත්ව හිංසාවක් සඳහා බලාපොරොත්තුවෙන් යම් සැතක් විකුණනව නම් ඒකයි එපා කිව්වේ. ඒක චේතනා වශයෙන් යමෙකුට පිහිටනව නම් ඔහු සැත් විකුණන්නේ ඒ චේතනාවෙන්. සත්ත්ව හිංසා කරන්න ගත්තට කමක් නෑ, මට ඕන සල්ලි, ඒ නිසා මම විකුණනවා කියල තුවක්කුවක්, කිනිස්සක්, පිස්තෝලයක් හෝ දැලිපිහියක් හරි විකුණනව නම්, ඒ පුද්ගලයා අසාධාරණ වෙළඳාම් කිරීම යටතට වැටෙනවා. නමුත් හාමුදුරුවන්ට අටපිරිකර ආදිය විකුණන මුදලාලි ඒ සඳහා දැලිපිහියක් විකිණීම හෝ කෙස් රැවුල් බෑම සඳහා විකිණීම මේ කියන සැත් වෙළඳාමට අහුවෙන්නෙ නෑ.

අපි දන්නවා කැත්තෙන්, පොරවෙන් කපල කොටලත් මිනිස්සු මරනවා. වෙනත් නොයෙක් ආයුධවලිනුත් මරනවා. එතකොට කම්මලේ ඉන්න බාස් උන්නැහේ තනිකරම මේ පිහි, කැති, මන්නා ආදිය හදල විකුණනවා. හැබැයි මේ බාස්උන්නැහේ අර කියන සැත් වෙළඳාමට අහුවෙනවද? එතකොට බාස්උන්නැහේට බෞද්ධ වෙන්න බැරිද? ඒ වගේම තවත් තැනක තුවක්කු, පිස්තෝල, බෝම්බ, කඩු, කිනිසි ආදිය හදල විකුණනවා. ඒවා හදන්නෙත් විකුණන්නෙත් අනුන්ට කපන්න, කොටන්න, හිංසා කරන්නයි. ඒක අර කියපු සැත් වෙළඳාමට අහුවෙනවා. නමුත් කම්මලේ බාස්උන්නැහේ මිනී මරන්න, සතුන් මරන්න ආයුධ හැදුවෙ නෑ. යම් කිසි අවශ්‍ය දෙයක් යහපත් විදිහට කපා කොටා ගන්නයි ආයුධ හැදුවේ. නමුත් මිනිස්සු මොකද කරන්නෙ ඒවා අරගෙන කපල කොටල මිනී මරනවා, සත්තු මරනවා.

තවත් කොටසක් උදලු විකුණනවා. උදල්ලෙන් ගහලත් මිනිස්සු මරනවා. එතකොට උදල්ලෙන් ගහල මිනී මරන කෙනාට ඒක සැතක් වෙනවා. හැබැයි උදලු හදන කෙනා සැත් වෙළඳාමට අහුවෙන්නෙ නෑ. ඒ නිසා අපි තේරුම් ගන්න ඕන සැත් වෙළඳාම එපා කිව්ව කියල මුළු සැත් වෙළඳාම ම එපා කියන නිගමනය ගත්තොත් කම්මලේ බාස්උන්නැහේට ආයුධයක් හදන්නත් බෑ. සාමාන්‍ය මනුෂ්‍යයකුට කැත්තක්, උදල්ලක් ගන්නත් බෑ. බුදුන්වහන්සේ ඒවා වෙළඳාම් කරන්න එපා කිව්වයි කියල ඔක්කෝම ඒ ගොඩට දාල නිගමනය කළොත් ඔක්කෝම වැඩ අතින් පයින්ම කර ගන්න සිද්ධ වෙලා අපි කොටු වෙනවා.

ඊළඟ කාරණය විස වනිජ්ජාව. නයි විස වගේ සර්ප විසත් අරගෙන අද බෙහෙත් හදනවා. ආයුර්වේද ආයතනයකින් ඉල්ලුවොත් නයි විස තියේ නම් ගෙනත් දෙන්න, මිලදී ගන්නවා කියල, ඒ ශාස්ත්‍රය දන්න කෙනෙක් නයි විස එකතු කරගෙන බෙහෙත් හදන්න විකුණන්නත් පුළුවන්. හැබැයි විස වෙළඳාම බුදුන් වහන්සේ එපා කිව්ව දෙයක් කියල, මේක අපට හොඳ නැති දෙයක් කියල ඒ වචනයම මුල් කරගෙන අපි නිගමනය කළොත් සර්ප විසට බෙහෙත් හදන්නත් බෑ. නමුත් ඒ බෙහෙත හදල විකිණීම ධර්මානුකූල දේට විරුද්ධ දෙයක් නෙවෙයි. ඒක මනුස්ස වර්ගයාට උපකාරයක් වෙනවා. මොකද කවුරුවත් මරන්න හෝ කාටවත් හිංගි හිංසා කරන්න හෝ ඒක විකුණන්නෙ නෑ. නමුත් කෘමිනාශක ගත්තොත් ඒවා නිෂ්පාදනය කරන්නෙත්, විකුණන්නෙත් කෙළින්ම යම් කිසි සත්ත්ව කොට්ඨාසයකට විනාශ කරන්නයි. එතකොට ඒක විස වනිජ්ජාවට අහුවෙනවා. මේවා විග්‍රහ කරල තෝර ගත යුතු කාරණාවන්.

ඊළඟට සුරා වනිජ්ජාව ගත්තොත් යම්කිසි කෙනෙක් පොල් මල් කපල විනාකිරි හදන කර්මාන්ත ශාලාවකට රා විකුණන්න පුළුවන්. එතකොට ඒ අයත් ඒක මිලදී ගන්නවා. හැබැයි මිලදී ගත්තේ සුරාවක්. දැන් සුරා වනිජ්ජා කියන වචනෙම පිහිටලා ඒක බෞද්ධයෙකුට තහනම් කියල නිගමනය කළොත් විනාකිරි කර්මාන්ත ශාලාවත් වහන්න වෙනවා. එතකොට විනාකිරි හැදීමත් පවක්, අසාධාරණයක් කියල හිතා ගන්න වෙනවා. ඒ නිසා විග්‍රහ කරල විසඳාගත යුත්තේ පව් වෙන්නේ කුමකින්ද, කෙබඳු සුරා ද පව් කියන කාරණා. කෙනෙක් මත් කරවීමේ අරමුණින් මත්පැන් හදල විකුණනව නම් ඒක සුරා වනිජ්ජාවට අහුවෙනවා. සුරා කියන්නේ සුවය කරා යාමයි. එනම් පංච කාම සුවයයි. ඒක මත් පැන්වලින් විතරක් නෙවෙයි රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ කියන මේ පහෙන්ම සිද්ධ වෙනවා. මත්පැන් විතරක් ගත්තොත් රස කොටස විතරයි අහුවෙන්නේ. මේ නිසා මේ පහෙන්ම මත් කිරීමේ අරමුණින් සිදු කරන සුරා සූදු, දුරාචාර සියල්ලත් මීට ඇතුලත් විය හැකි බව ඥාන සම්ප්‍රයුක්තව තේරුම් ගත යුතුයි.

එහෙනම් මංස වනිජ්ජාව කියන එකත් තෝරා ගත යුත්තේ මේ ක්‍රමයටමයි. සතෙකුට හිංසා පීඩා කරල සත්ත්වයෙක් මරල විකුණනව නම්, හෝ මස් පිණිස මරපු සතෙකුගේ මස් විකුණන පුද්ගලයා අසාධාරණ වෙළඳාමට අහුවෙනවා. හැබැයි පවත්ත මාංශය නම් වෙළඳාම් කරන්න පුළුවන්. ඒක මංස වනිජ්ජාවට අහුවෙන්නෙ නෑ. යම් කිසි මාංශයක ජීවන වෘතය පහවෙලා නම් ඒක පවත්තයි. ජීවන වෘතය පහවුණාට පසු ඒක මළ කුණක්. හැබැයි පහ වූ කියන එකයි, පහ කළ කියන එකයි කාරණා දෙකක්. පහ කළ එක පවත්ත නෙවෙයි. මොකද පහ කළයි කියන්නේ උපක්‍රම යොදල සත්ත්වයෙක් ඝාතනය කිරීමයි. නමුත් සතෙක් හදිසි අනතුරකින් හෝ ලෙඩක් හැදිල හෝ වෙනත් සතෙකු විසින් ගොදුරු කර ගත් විටකදී ඒ සතාගේ මාංශය පවත්ත යන්නට අයිති වෙනවා. එතකොට ඒ මළ කුණ ප්‍රාණ ඝාතය හා කිසිම සම්බන්ධයක් නැති නිසා ඒක වෙළඳාම් කළාට ප්‍රශ්නයක් නෑ. එවැනි මසක් කවුරු හරි පරිහරණය කළොත් ඒක මංස වනිජ්ජාවට අහුවෙන්නෙ නෑ. හැබැයි යම් කිසි කෙනෙක් සතුන් මරා වෙළඳාම් කරනව නම් ඒකෙ පාපය මරන කෙනා දරාගත යුතු අතරම එවැනි මස් වෙළඳාම් කරන අය මංස වනිජ්ජාවට අහුවෙනවා. එහෙනම් කඩේ තියෙන මස් මාළු, කරවල, උම්බලකඩ ආදිය කියන්නේ අසාධාරණ විදිහට මරා සකස් කරගත්තු ඒවා නිසා, ඒවා විකුණන මුදලාලිත් අසාධාරණ ☞

මස් විකිණීම මත මංස වනිජ්ජාවට අහු වෙනවා.

නමුත් යම් කිසි විදිහකින් එළවළුයි බතුයි විතරක් තියෙන කඩයක් තියෙනවයි කියල හිතමු. ඒවා හදල තියෙන්නෙත් පිරිසිදුවට එළවළුයි බතුයි විතරක් ආහාරයට ගන්න අයටයි. එවැනි කඩ අදත් තියෙනවා. හේතුව මිනිසුන් අතර යම් කිසි විදිහකින් ප්‍රාණ ඝාතය නොකරන හෝ ඒවාට අනුබල නොදෙන අය කඩයක් දා ගන්න ගියොත් අපි දන්නවා එයා උපාසකයෙක් කියල. උපාසක මහතුන්ටත් කඩයක් දාගන්න අයිතියක් තියෙනවා. එතකොට ඔහු මත්පැන්, මස් මාංශ ආදිය නොගෙන එළවළුයි බතුයි විතරක් තියෙන කඩයක් දා ගන්නවා. එතකොට අපිට ඒ පුද්ගලයා ගැන සැකයක් නෑ. මේ වගේ යම්කිසි කෙනෙක් ගැන හොඳ චරිතයක් ඇති උපාසක මහත්තයෙක් කියල අපි දන්නව නම්, ඒ පුද්ගලයා ගැන අපට සැකයක් නෑ තහනම් වෙළඳාමක් කළා කියල. යම් කිසි විදිහකින් ඒ පුද්ගලයා කැලෑ ප්‍රදේශයක ජීවත් වෙනව නම් සමහර විට සතුන් විසින් කා දමන ලද මුවන්, හාවුන් ආදීන්ගේ මස් පවත්ත මංශ බව දැනගෙන ඒවා ලෝකයාට විකුණ ගන්න පුළුවන් නිසාත්, පාපයක් නැති නිසාත් ඔහු ඒවත් කඩේ විකුණන්න තියන්න පුළුවන්.

මෙතනදී අපට ඒ පුද්ගලයා ගැන සැකයක් නැති නිසාත්, අපි දන්න කෙනෙක් නිසාත් කඩේ විකුණන්න තියෙන්නෙ පවත්ත මාංශ බවට සැකයක් ඇති වෙන්නෙ නෑ. ඔහු පවත්ත මාංශ හැර අනෙක්වා නොවිකුණන බව අපි දන්නවා. ඔහු කවදාවත් අපිව රවටා පවත්ත නොවන මස් මාංශ කවන්නෙ නෑ කියල අපි දන්නවා. සමහර විට ''ස්වාමීනී හාවෙක් වතුරට වැටිල මැරිල හිටියා. ඒක පවත්ත නිසා මම උයාගෙන ආවා'' මෙහෙම කියල පිළිගන්වන්න පුළුවන්. දැන් ඔහු ගැන අපට සැක කරන්න දෙයක් නෑ. අසා දැන ගත්තා. දැන් ඒක සැක නැති කර ගත්ත මසක්. හැබැයි මේ කාරණය දැකලා කපටිකමට ලාභ ලබන බලාපොරොත්තුවෙන් සුපුරුදු පරිදි මස් වෙළඳාම් කරන මුදලාලි කෙනෙක්, මම ළඟත් පවත්ත මාංශ තියෙනවා කියල, ඔහු ළඟ තියෙන මස් වෙළඳාම කළොත් එතනදී අපට සැකයක් ඇති වෙනවා ඔහුගේ චරිත ස්වභාවය අනුව. ''අපරිසංකිතං'' කියන කාරණය මෙතනදී මතුවෙනවා. ඒ නිසා අපිට ඒ මාංශය ගැනීමෙන් වළකින්න පුළුවන්.

දැන් තවත් ප්‍රශ්නයක් ඇති වෙන්න පුළුවන්, සත්ත්ව වනිජ්ජාව හා මංස වනිජ්ජාව අතර වෙනස මොකක්ද කියල. සත්ත්ව වෙළඳාමේදී සතුන් පණ පිටින් හිංගි හිංසාවට ලක් කරල විකිණීමක් සිද්ධ වෙනවා. ඉස්සර තිබුණු වහල් වෙළඳාමත් මේකටම අයිතියි. එනම් මිනිසුන් වහල් වෙළඳාමේ යෙදවීමත්, මරන්න ගෙනියන බව දැන දැන කෙනෙකුට සතුන් විකිණීමත් සත්ත්ව වනිජ්ජාවක්. මංස වනිජ්ජාවේදී සිදු වන්නේ අසාධාරණ ලෙස මරා මස් කරපු මාංශය විකිණීමයි. සත්ත්ව වනිජ්ජාවේදී ප්‍රධාන වශයෙන්ම සිදුවන්නේ මස් පිණිස සතුන් වෙළඳාමයි. ඒක මිච්ඡා ආජීවයට වැටෙනවා. එනම් ජීවත් වීම සඳහා වැරදි වැඩක් කිරීමයි. එතකොට සුරතලේට සතුන් ඇති කිරීම හෝ ගොවිතැන් කිරීමට සතුන් ඇති කිරීම මීට අදාළ වෙන්නෙ නෑ. මොකද කිරි හරක් වගේ සතුන් ඇති කිරීමත් දැහැමි වෙළඳාමට අයිතියි. ඒ නිසා ඒක මිච්ඡා ආජීවයට වැටෙන්නෙ නෑ.

ගව මහේෂාදී සතුන් බිහිවීම බෞද්ධයාගේ ලෞකික අභිවෘද්ධියක් කියලත් දහමේ පෙන්වනවා. (ගාවෝ තස්ස පජායන්ති - මිත්තානිසංස සූත්‍රය) උදාහරණ ලෙස අනේපිඬු සිටුතුමාට එළු කොටුවක් තිබුණු බව සඳහන් වෙනවා. හැබැයි ඒ මස් සඳහා නෙවෙයි. එක්තරා පුණ්‍ය සෘද්ධියක් මුල් කරගෙන ඒ එළුවෝ දාන බෙටි රත්රන් වුණාලු. මෙතනදී තේරුම් ගත යුත්තේ ඒ එළු බෙටි රන් හා සමාන වටිනාකමක් ඇතිව ගොවිතැන්වලට යොදා ගන්න පුළුවන් වෙලා එමගින් විශාල ආදායමක් ලැබූ බවයි. රත්රන් කියල අදහස් කළේ රන් හා සමානව වටිනවා කියන එකයි කියල හිතන්නත් පුළුවන්. එහෙනම් එදත් බෞද්ධයො එළුවො, හරක් ආදිය හදල තියෙන බව පේනවා. සෝවාන් අයට සතර අපා ගතවන මට්ටමේ මිච්ඡා ආජීවයක් තියෙන්න බෑ. මේ කියන ගොවිතැන් ආදී කටයුතු සඳහා ගව මහේෂාදී සතුන් ඇති කිරීම මිච්ඡා ආජීවයක් නෙවෙයි. එතකොට කිරි හරක් හදන කෙනෙක් තමා ළඟ සිටින කිරි හරක් පැටියෙක් තවත් එවැනිම කිරි හරක් හදන කෙනෙකුට ඒ සඳහා විකුණුවොත් ඒක සත්ත්ව වනිජ්ජාවට අයිති වෙන්නෙ නෑ.

අනෙක් කාරණය නම් සුරතලේට ඇති කරන සතුන් සත්ත්ව වනිජ්ජාවට අයිති නොවුණට සමහර විට හිර කර තැබීම නිසා සත්ත්ව හිංසාවක් වෙන්න පුළුවන්. එහෙම වුණොත් ඒක අසාධාරණයක් වෙනවා. දයානුකම්පාව පිළිබඳ ප්‍රශ්නයක් ඇති වෙනවා. ඒ කාරණය බොහොම සියුම් නිසා ඥාන සම්ප්‍රයුක්තව තෝරා ගත යුතුයි. උදාහරණ විදිහට කැලේ නිදහසේ ඉන්න කුරුල්ලන් අල්ලගෙන කොටු කරලා කුඩු කරලා ඇති කරන්න සමහරු හරි කැමතියි. මේ විදිහට නිදහසේ යන සතුන් අල්ලගෙන තමන්ගේ සුන්දර ලෝකය හදා ගන්න උන්ව හිර කරනවා. නමුත් ඒක අසාධාරණයක්. දයානුකම්පාවේ අඩුවක්. ඒ අසාධාරණය කරන්න නිදහසේ ඉන්න සතුන් අල්ලගෙන කූඩු කරල විකුණනවා. ඒකත් ගැළපෙන්නෙ නෑ. තහනම් වූ සත්ත්ව වනිජ්ජාවට අයිති වෙනවා. එබඳු හේතු බලවත් නම් තමන්ටත් කවදා හරි අභූත චෝදනාවලට හිර අඩස්සියට යන්න හෝ වහල් වෙළඳාම වගේ දේකට අහුවෙන්න හෝ පුළුවන්. සුරතල් මසුන් ඇති කිරීමත් යථාර්ථයෙන් බැලුවොත් අසාධාරණයක් තියෙනවා. ස්වභාවයේ විහිදිලා පැතිරිලා ඉන්න මාළු පුංචි පුංචි ටැංකිවලට දැමීමෙන් කොටු වෙනවා. අපි දන්නෙ නැති වුණාට උන්ගෙ නිදහස සීමා වෙනවා. හැබැයි ඒක නිදහස් ඉඩ ප්‍රමාණය අනුවයි තීරණය වෙන්නේ. නමුත් ගෙදර දොර ඇති කරන බල්ලන් හා බළලුන් සම්බන්ධයෙන් තත්ත්වය මීට වඩා වෙනස්. මොකද බොහෝ විට උන් එළිමහනේ නිදහස් පරිසරයක ඇති කරන නිසා කොටුවීමක් හෝ අසාධාරණයක් හෝ සිද්ධ වෙන්නෙ නෑ. මේ නිසා ඒක අවස්ථානුකූලව සතුන් අනුව වෙනස් වෙනවා. මේ ආකාරයට ඥාන සම්ප්‍රයුක්තව තහනම් කරපු වෙළඳාම් ගැන දැන ගෙන තම තමන්ට පුළුවන් විදිහට ඒවායින් වැළකී සිටීමෙන් මෙලොව පරලොව අභිවෘද්ධිය සලසා ගන්න.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# පංචස්කන්ධය පිළිබඳ විපස්සනා කථාව



බොහෝ පින්වතුන්ගේ ඉල්ලීම පරිදි පටිසම්භිදාමග්ගප්‍රකරණයේ අංක 2 පොතේ සඳහන් බුද්ධ දේශනාව කැටිකර මෙසේ දක්වා තියෙනවා.

විපස්සනා කථා - 226 පිටුව - භාග්‍යවතුන් වහන්සේ සැවත් නුවර දෙව්රම් වෙහෙරේ වැඩ සිටින සමයෙක්හි ආනන්ද තෙරුන් වහන්සේට වදාල ධර්ම දේශනාවක් ලෙස මෙසේ පෙන්වා ඇත.

මහණෙනි, ඒකාන්තයෙන් භික්ෂුව **කිසි සංඛාරයක් නිච්ච සෙයින් ගන්නේ** අනුලෝමක්ෂාන්තියෙන් සමන්වාගත වන්නේය යනු සිදු නොවන්නකි. අනුලෝමක්ෂාන්තියෙන් සමන්වාගත නොවන්නේ සම්මත්තක්ත්ව නියාමයට (ලෝකෝත්තර මාර්ගයට) බස්නේය යන කරුණ සිදු නොවේ. සම්මත්තක්ත්ව නියාමයට නොබස්නේ සෝතාපන්න ඵලය හෝ සකදාගාමී ඵලය හෝ අනාගාමී ඵලය හෝ අරිහත් ඵලය ලබන්නේය යන්න සිදු නොවන්නකි.

මහණෙනි, භික්ෂුව හැම **සංඛාරයන් අනිච්ච සෙයින් දක්නේ** අනුලෝමක්ෂාන්තියෙන් සමන්වාගත වන්නේය යන කරුණ සිදු වන්නෙකි. අනුලෝමක්ෂාන්තියෙන් යුතු වන්නේ සම්මත්තක්ත්ව නියාමයට බස්නේය යන්න සිදු වන්නෙකි. සම්මත්තක්ත්ව නියාමයට පත්වන්නේ සෝතාපන්න, සකදාගාමී, අනාගාමී, අරිහත් යන ඵලයන් සාක්ෂාත් කරන්නේය යන්න සිදු වන්නකි.

ඉහත ආකාරයට මේ හතලිස් ආකාර පද යොදා අදහස ගත යුතුයි. **පංචස්කන්ධය නිච්ච සෙයින් ගන්නේ** අනුලෝමක්ෂාන්තියෙන් සමන්වාගත වන්නේය යන්න සිදු නොවන්නකි. අනුලෝමක්ෂාන්තියෙන් යුක්ත (සමන්වාගත) නොවන්නේ සම්මත්තක්ත්ව නියාමයට බස්නේය යන කරුණ සිදු නොවේ. සම්මත්තක්ත්ව නියාමයට නොබස්නේ සෝතාපන්න, සකදාගාමී, අනාගාමී, අරිහත් යන ඵලයන්ට පත්වීම ලබන්නේය යන්න සිදු නොවන්නකි.

**පංචස්කන්ධය අනිච්ච සෙයින් දක්නේ** අනුලෝමක්ෂාන්තියෙන් සමන්වාගත වන්නේය යන්න සිදුවන්නකි. අනුලෝමක්ෂාන්තියෙන් යුතු වන්නේ සම්මත්තක්ත්ව නියාමයට බස්නේය යන්න සිදුවන්නකි. සම්මත්තක්ත්ව නියාමයට පත්වන්නේ සෝතාපන්න, සකදාගාමී, අනාගාමී, අරිහත් යන ඵලයන් සාක්ෂාත් කරන්නේය යන්න සිදුවන්නකි.

මේ ආකාරයෙන් මේ හතලිස් ආකාර විදර්ශනාව පංචස්කන්ධය හා නිරෝධ සංඛ්‍යාත නිවනට ගැලපිය යුතුයි.

## පංචස්කන්ධය

1. අනිච්ච සෙයින් දක්නේ
2. දුක් සෙයින් දක්නේ
3. රෝග සෙයින් දක්නේ
4. ගණ්ඩ (සැරව ගෙඩියක්) සෙයින් දක්නේ
5. සල්‍ය (සැතක් වැනි - කපන කොටන ආයුධ) සෙයින් දක්නේ
6. අඝ (උගුලක්) සෙයින් දක්නේ
7. ආබාධ සෙයින් දක්නේ
8. පර (තමාගේ යැයි නොවන) සෙයින් දක්නේ
9. බිඳෙන (අනිවාර්යයෙන්ම) සෙයින් දක්නේ
10. ව්‍යසන සෙයින් දක්නේ
11. උපද්‍රව සෙයින් දක්නේ
12. බය සෙයින් දක්නේ
13. උපසර්ග (පිහිට පැතිය යුතු) සෙයින් දක්නේ
14. චල (සැලෙන) සෙයින් දක්නේ
15. බිඳෙන සුළු (බිඳෙන ස්වභාවය ඇති) සෙයින් දක්නේ
16. අද්ධුව (අස්ථිර) සෙයින් දක්නේ
17. අත්ත්‍රාණ (තැනක් දිය නොහැකි) සෙයින් දක්නේ
18. අලෙන (පිහිටන්න නුසුදුසු ) සෙයින් දක්නේ
19. අසරණ සෙයින් දක්නේ

20. හිස් (පුහු වැනි) සෙයින් දක්නේ
21. තුච්ඡ සෙයින් දක්නේ
22. ශූන්‍ය (හර නැති) සෙයින් දක්නේ
23. අනත්ත (අසාර) සෙයින් දක්නේ
24. ආදීනව සෙයින් දක්නේ
25. විපරිණාම (නොකැමැති සේ වෙනස්වීම) සෙයින් දක්නේ
26. අසාර ස්වභාව සෙයින් දක්නේ
27. අඝ මූල (විනාශයට මුල) සෙයින් දක්නේ
28. වධක සෙයින් දක්නේ
29. විභව (යහපත් බව නැති) සෙයින් දක්නේ
30. සාසව (ආශ්‍රව සහිත - කෙළෙස් ඕජස් සහිත) සෙයින් දක්නේ
31. සංඛත (සකස් වූ) සෙයින් දක්නේ
32. මාරාමිෂ (මරුට ආහාර) සෙයින් දක්නේ
33. ජාති ධර්ම සෙයින් දක්නේ
34. ජරා ධර්ම සෙයින් දක්නේ
35. ව්‍යාධි ධර්ම සෙයින් දක්නේ
36. මරණ ධර්ම සෙයින් දක්නේ
37. ශෝක ධර්ම සෙයින් දක්නේ
38. පරිදේව (තමන්ගේ දුක නිවාගන්න තවත් කෙනෙකුගේ පිහිට පැතීම, අඳෝනා නැගීම) ධර්ම සෙයින් දක්නේ
39. උපායාස (යසස් නැති බවට ලංවීම) ධර්ම සෙයින් දක්නේ
40. සංකිලේෂ (කෙලෙස් සහිත) ධර්ම සෙයින් දක්නේ

## නිරෝධ සංඛ්‍යාත නිවන

1. නිච්ච සෙයින් දක්නේ
2. සුභ සෙයින් දක්නේ
3. ආරෝග්‍ය සෙයින් දක්නේ
4. නොගඬ සෙයින් දක්නේ
5. විසල්‍ය සෙයින් දක්නේ
6. නිරස (අනර්ග) සෙයින් දක්නේ
7. ආබාධ රහිත සෙයින් දක්නේ
8. පර ප්‍රත්‍ය රහිත සෙයින් දක්නේ
9. නොබිඳෙන සෙයින් දක්නේ
10. ව්‍යසන රහිත සෙයින් දක්නේ
11. අනුපද්‍රව සෙයින් දක්නේ
12. නිර්භය සෙයින් දක්නේ
13. අනුපසර්ග (ආධාරයට කෙනෙක් අවශ්‍ය නැති) සෙයින් දක්නේ
14. අචල සෙයින් දක්නේ
15. නොබිඳෙන සුළු සෙයින් දක්නේ
16. ධ්‍රැව (ස්ථිර) සෙයින් දක්නේ
17. ත්‍රාණ (යහපත් දෙයක්, තැනක් දිය හැකි) සෙයින් දක්නේ
18. ලෙන (පිහිටන්න සුදුසු) සෙයින් දක්නේ
19. සරණ සෙයින් දක්නේ
20. නොසිස් සෙයින් දක්නේ
21. අතුච්ඡ සෙයින් දක්නේ
22. අශූන්‍ය සෙයින් දක්නේ
23. අත්ත (සාර) සෙයින් දක්නේ
24. අනාදීනව සෙයින් දක්නේ
25. අවිපරිණාම සෙයින් දක්නේ
26. සාර ස්වභාව සෙයින් දක්නේ
27. අනඝ මූල සෙයින් දක්නේ
28. වධක නොවේ යැයි සෙයින් දක්නේ
29. අවිභව සෙයින් දක්නේ
30. අනාසව සෙයින් දක්නේ
31. අසංඛත සෙයින් දක්නේ
32. මාරාමිෂ නොවන සෙයින් දක්නේ
33. ජාති ධර්ම නොවන සෙයින් දක්නේ
34. අජර ධර්ම සෙයින් දක්නේ
35. අව්‍යාධි ධර්ම සෙයින් දක්නේ
36. අමරණීය ධර්ම සෙයින් දක්නේ
37. අශෝක ධර්ම සෙයින් දක්නේ
38. අපරිදේව ධර්ම සෙයින් දක්නේ
39. අනුපායාස ධර්ම සෙයින් දක්නේ
40. අසංකිලිට්ඨ ධර්ම සෙයින් දක්නේ

**මේ විදියට පංචස්කන්ධ ධර්ම ස්වභාව හතලිහ නිරෝධ සංඛ්‍යාත නිවනේ ස්වභාව ලෙස වරදවා ගත්තොත් අනුලෝමක්ෂාන්තිය නොලැබෙන බවත්, එවිට සම්මත්ත්ව නියාමයට බැසීම හෙවත් ලෝකෝත්තර මාර්ගය නොවැඩෙන බවත්, එවිට සෝතාපන්න, සකදාගාමී, අනාගාමී, අරිහත් යන ලෝකෝත්තර ඵල නොලැබෙන බවත් පෙන්වා තියෙනවා.**

පංචස්කන්ධය පිලිබඳව පෙන්වා ඇති කරුණු හතලිහ ඒ ආකාරයන්ගෙන් දකින කොට අනුලෝමක්ෂාන්තිය ලැබෙන බවත්, නිරෝධ සංඛ්‍යාත නිවන පිළිබඳ ස්වභාව හතලිහ එසේ විදර්ශනා නුවනකින් දකිනකොට සම්මත්ත්ව නියාමයට හෙවත් ලෝකෝත්තර මාර්ගයට පත්වන බවත්, එවිට සෝතාපන්න, සකදාගාමී, අනාගාමී, අරිහත් යන ලෝකෝත්තර ඵල ලැබෙන බවත් පෙන්වා තියෙනවා. මේ තමයි හතලිස් ආකාර විදර්ශනා නුවණ.

තවත් විස්තර කරල කියනව නම්, පංචස්කන්ධය අනිච්ච ලෙසත්, දුක් ලෙසත්, රෝග ලෙසත්, ගණ්ඩ ලෙසත් ආදී 40 ආකාරයටත්, පංචස්කන්ධ නිරෝධ සංඛ්‍යාත නිවන නිච්ච ලෙසත්, සුභ ලෙසත්, නිරෝග ලෙසත්, නොගඬ ලෙසත් ආදී 40 ආකාරයටත් ගත යුතුයි. එවිට ගලපන ආකාරය මෙසේය. පංචස්කන්ධය අනිච්ච සෙයින් දක්නේ අනුලෝමක්ෂාන්තිය ලබයි. පංචස්කන්ධයාගේ නිරෝධ සංඛ්‍යාත නිර්වාණය නිච්ච සෙයින් දක්නේ සම්‍යක්ත්ව නියාමයට බස්නේය. මෙසේ මේ කරුණු 40 ම ගලපා ගත යුතුයි.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# අනිච්චාවත සංඛාරා....
# ගාථාවෙන් හෙළිවන සැබෑ දහම් අරුත

(පසුගිය කලාපයෙන් - පින්වතුන් මුලාවට ඇද දමන විතණ්ඩවාදී දහම් මතවාද)



ධම්ම ගුරුතුමාගේ ආලෝකය නම් පත්‍රයේ පළ වූ ලිපියක අනිච්චතාවය විස්තර කරන්න අනිච්චාවත සංඛාරා කියන ගාථා රත්නය මාතෘකා කරගෙන නැවතත් බමුණන්ගේ වේදයකට බැස ''යන්නෙ කොහෙද ඇහුවම මල්ලෙ පොල්'' වැනි පිළිතුරක් දෙන ආකාරය පෙනී යනවා. ඔන්න බබෝ බිල්ලො එනවා කියන්නේ පොඩි එවුන් රවටන්නයි. තල් අත්තට දිවුල් වැටිල හාවො භය වෙලා දුවන කථා, ඒ පස්සෙ අනිත් අලි කොටි පවා පැනල දිව්ව කථා පොඩි එවුන්ගේ සුරංගනා ලෝකෙ බව හිතා ගැනීම වටිනවා. අනිච්ච විග්‍රහ කරන්න මේ සුරංගනා කතා මොකටද?

''ආනන්දය, සියලු සංස්කාරයන් කෙරෙහි අනිච්ච සංඥා තොමෝ කවරේද? ආනන්දය, මේ සාසනයෙහි මහණ තෙම සියලු සංඛාරයන් කෙරෙන් පීඩාවට පත්වේද, ලජ්ජාවේද, පිළිකුල් කෙරේද හෙවත් හැමතින් අසුභ කෙරේද, ආනන්දය මේ සියලු සංඛාරයන් කෙරෙහි අනිච්ච සංඥාවය.'' මේ තමයි බුදු පියාණන් වහන්සේ පෙන්වා වදාල අනිච්චතාවය. අං:නි: (6) <u>ගිරිමානන්ද සූත්‍රය.</u>

## අනිච්චාවත සංඛාරා
## උප්පාද වය ධම්මිනෝ
## උප්පජ්ජිත්වා නිරුජ්ජන්ති
## තේසං වූප සමෝ සුඛෝ

අනිච්ච මේ විදිහට තෝරා නොගෙන, අනිච්චාවත සංඛාරා තෝරන්න ගිහින් සංඛාර හෙවත් සංඛත ධර්මතා ඒකාන්තයෙන් ස්ථිරව නොපවතී කියල මේ ගුරුතුමා කියනවා. ඒ අය සංඛාර හෙවත් සංඛත ධර්ම කීමෙන් සංඛාර සහ සංඛත එකක් විදිහට අරගන්නවා. සං.නි. (3) 148 පිටුව - <u>ඛජ්ජනීය සූත්‍රය</u> - කිංච භික්ඛවේ සංඛාරේ ව දේථ සංඛතං අභිසංඛරෝති භික්ඛවේ තස්මා සංඛාරෝති වුච්චති.

මෙයින් පෙන්වන්නේ සංඛත කර අභිසංකරනය කිරීම සංඛාර කියලයි. (ගොඩනැගීමේ ක්‍රියාවලිය සංඛාරයි. ගොඩනැගුවට පසු එය සංඛතයක් වේ. ගොඩනගාගත් දේ පවත්වාගන්න නැවතත් අලුත්වැඩියා කිරීමේ ක්‍රියාවලිය අභිසංඛරනය වේ.) රූපය රූපය සඳහා අභිසංකරනය කිරීම, වේදනාව වේදනාව සඳහා අභිසංකරනය කිරීම, සංඥාව, සංඛාරය, විඤ්ඤානය යන ඒවාත් ඒ ඒ දේ සඳහා අභිසංකරනය කිරීම සංඛාර කියල හඳුන්වනවා.

මේ සියලු සංඛාර ඒකාන්තයෙන් ස්ථිරව නොපැවතීම අනිච්චයි කියල කීමෙන් පෙන්වන්නේ බමුණන් අනිච්ච අර්ථය වහපු ආකාරයයි. ඒ නිසයි මේ ගුරුතුමා උප්පාද වය ධම්මිනෝ කියන දෙවැනි පදය අනිච්ච ලක්ෂණයෙන් වෙන් කරන දුක්ඛ ලක්ෂණයට දමල තියෙන්නේ. උප්පජ්ජිත්වා නිරුජ්ජන්ති යන තුන්වැනි පදය අනිච්ච, දුක්ඛ දෙකෙන්ම වෙන් කරල අනත්ත ලක්ෂණයට දමල තියෙන්නෙත් බමුණු දහමේ ආභාෂයෙන්. නමුත් අනිච්චාවත සංඛාරා කියන ගාථාවේ මුල් පද තුනෙන්ම විග්‍රහ කරල තියෙන්නේ අනිච්ච ස්වභාවයමයි. ඒ තුල දුක්ඛ සහ අනත්ත ස්වභාවයත් තියෙනවා. දුක්ඛ සහ අනත්ත අනිච්ච ස්වභාවයෙන් වෙන් කරන්න බෑ.

දීඝනිකාය (3) 412 පිටුවේ එන <u>සංගීති සූත්‍රයේ</u> අනිච්ච සංඥා, අනිච්චේ දුක්ඛ සංඥා, දුක්ඛේ අනත්ත සංඥා කියල පෙන්වල තියෙනවා. අනිච්ච සංඥාව, අනිච්චයෙහි දුක්ඛ සංඥාව, දුක්ඛයෙහි අනත්ත සංඥාව කියල අනිච්ච යම් ☞

තැනකද, දුක්ඛ හා අනත්ත ඊටම බැඳිල ගොඩනැගෙන ආකාරය පෙන්වා, පහාන සංඥා (කෙලෙස් ප්‍රහානය), විරාග සංඥා (සියලු ඡන්දරාගයන්ගෙන් වෙන් වීම) දෙකත් ත්‍රිලක්ෂණය දකිනකොට වැඩෙන ආකාරය පෙන්වමින්, අරිහත්වයට පත්වෙන්න මේ සංඥා පහ විදර්ශනාවෙන් දකිය යුතු ආකාරය පෙන්වල තියෙනවා. මේ පහාන, විරාග යන සංඥා දෙකයි, තේසං වූප සමෝ සුඛෝ කියන හතරවැනි පදයෙන් අවබෝධ කරන්නේ.

**බමුණු මතය අනුව අනිච්චාවත සංඛාරා දුක නෙවෙයි දුකට හේතුවයි. නමුත් බුදු දහම අනුව නම් දුකට හේතුව තණ්හාවයි. බුදු දහමට සසඳල බැලුවොත් බමුණන්ගේ මතය අනුව අනිච්ච කියන්නේ තණ්හාව විය යුතුයි. නමුත් මෙබන්දක් දහමට ගැලපෙන්නෙ නෑ.**

උප්පාද වය ධම්මිනෝ කියන්නේ අනිච්චාවත සංඛාරා කියන පදයේම විග්‍රහ අර්ථය බව උප්පාද වයට්ඨේන අනිච්චා යන දහම් පදයෙන් ඔප්පු වෙනවා. උප්පජ්ජිත්වා නිරුජ්ජන්ති කියන තුන්වැනි පදයෙන් පෙන්වන්නේ අනිච්ච ධර්මතාවය තවත් විග්‍රහ සහිතව දකින උදයව්‍ය ඥානයයි. නෙත්තිප්ප්‍රකරණයේ 156 පිටුවේ උදයව්‍ය ඥානය විග්‍රහ කරමින් උදය ඥානය නම් පටිච්ච සමුප්පාදය දකින නුවණ බවත්, වැය ඥාණය නම් පටිච්ච සමුප්පාද ධර්මයන්ගේ නිරෝධය දකින නුවණ බවත් පැහැදිලිව විග්‍රහ කරල තියෙනවා. පටිච්ච සමුප්පාදය ධර්ම න්‍යායක්. එය තථ, අවිතථ, අනඤ්ඤත වශයෙන් වෙනස් කළ නොහැකි ලෙස පෙන්වා තියෙනවා. නිරෝධ කරන්නේ ඒ අනුව පහළ වන ධර්මයි. හෙවත් පටිච්ච සමුප්පාද ධර්මයයි.

මේ ගුරුතුමා කියන විදිහට දහම් අවබෝධය ලබන්න වේද පොත් කියවා සිටිය යුතුයි. **ඉන්දීය දර්ශනය නැමැති පොතේ භාරතීය ඉතිහාසය කියවල කුමන හරයක් ගන්නදැයි දහම් වැටහෙන කෙනෙකුටනම් හිතා ගන්න පුළුවන්.**

තවද වෛද්‍ය වීරසිංහ මහතා හෙළ බොදු පියුම දහම් සඟරාවට ලියූ ලිපියක වයස අවුරුදු 30 ක් පමණ වන තුරු කාලය, සැප කාලයක් යැයි කළ නිගමනයක් නෑ. ලෝකයේ ප්‍රිය ස්වභාවයක් ඇති නිසාම සත්වයෝ ඇලෙනවා කියන කාරණය බුද්ධ දේශණාවක්. ඒ ඇලීමට හේතුව අවිද්‍යාව බව ඔවුන්ට නොපෙනෙන නිසයි ඔවුන් (තරුණ බවම) ප්‍රිය ස්වභාවයම බලාපොරොත්තු වෙන්නේ. හෙළ බොදු පියුම දහම් සඟරාවේ පළවූ එකී ලිපියේ මනුෂ්‍යයා තරුණ කාලයට ආසා කරන බව කිව්වම, එහෙනම් සිය දිවි හානි කර ගන්නේ ඇයි දැයි යනුවෙන් මේ ගුරුතුමා මුලා ප්‍රශ්නයක් එතුමාගේ ආලෝකය පත්‍රයෙන් අහල තිබුණා. **තරුණ තරුණියන්ගේ කැමැත්ත ඔවුන් මවාගත් සුරංගනා ලෝකය වුනත්, යං පිච්ඡං නලබති තම්පි දුක්ඛං යන දේශණාව පරිදි ඔවුන්ගේ ඉච්ඡා භංගත්වය නිසා සිදුවන දුක උහුලා ගන්න බැරිව සමහරු සිය දිවි හානි කර ගන්නවා.** ඒ නිසා ඒ ලිපියේ තරුණ තරුණියන් හෝ ළමා වයසේ අය ඒ තරුණ බව ප්‍රිය කරන නිසා වූ කීමක් මිසක්, ඒක සත්‍යය දැකල ලබන සතුටක් කියල කී බව ගුරුතුමා හිතුව නම් ඒ සිතීමයි විකෘතිය වන්නේ. යම් ධර්මයක් දෙස වපර ඇසින් බලන කෙනෙකුට පේන්නෙත් වපර විදියටම බව මෙබඳු තැන් විමසා බැලීමේදී පෙනී යනවා.

**සිහල තෙරවරු අනිච්ච කියන එකට අනිස කියල දක්වල තියෙන පදයේ අදට යෙදෙන අනිසි කියන අර්ථය අරගෙන, ධර්මයට ගැලපෙන විදිහට තෝරාගත්තම අනිච්චාවත සංඛාරා කියන පදයේ නියම අර්ථය වටහා ගන්න පුළුවන්.** එනම් අනිච්ච = අට්ටීයති, හරායති, ජිගුච්ඡති. නිරන්තරයෙන් පෙළෙන ලක්ෂණ අට්ටීයති වෙනවා. මේ පෙළෙන ලක්ෂණය දුක හා බැඳිල පවතිනවා. අභිනිබ්බත්තිය හෙවත් අළුත් කයක් පහලවීම (තිබුණු කය මළාට පසු) දුකේ පහලවීමයි, නව කයක් පහල නොවීම දුකෙන් නිදහස් වීමයි.

මේ අට්ටීයති, හරායති, ජිගුච්ඡති හෙවත් අනිච්ච යම් තැනෙක නැගෙනවද, සංඛත කර අභිසංකරනය කරමින් නැගෙන සංඛාර ඒ හේතුවෙන් ඒකාන්තයෙන්ම අනිච්චයි. මේ තමයි කෙටි අදහස.

මීලඟට උප්පාද වය ධම්මිනෝ කියන පදයෙන් අනිච්චතාවය තවත් විග්‍රහ කරල තියෙනවා. පටිසං.මග්.ප්‍ර. ආනාපාන ස්මෘති කථා 364 පිටුවේ ඒ කාරණය මෙහෙම විග්‍රහ කරල තියෙනවා. කේනට්ඨේන අනිච්චා - උප්පාද වයට්ඨේන අනිච්චා. කුමන අර්ථයෙන් අනිච්ච කියන්නේද? ඉපදීම සහ වැයවීම යන අර්ථයෙන්.

පංචන්නන් ඛන්ධානන් උදයං පස්සන්තෝ පංච වීසති ලක්ඛනානි පස්සන්ති. වයං පස්සන්තෝ පංච වීසති ලක්ඛනානි පස්සති. පංචන්නං ඛන්ධානං උදයබ්බයං පස්සන්තෝ ඉමානි පංඤ්ඤස ලක්ඛනානි පස්සංති. මේ අනිච්ච පිළිබඳ සාමාන්‍ය විස්තරයයි. මේ උදයව්‍ය පනස් ලක්ෂණය ගැන සම්පූර්ණ විග්‍රහයක් හෙළ බොදු පියුම දහම් සඟරාවේ 10 වන කලාපයේ පළ කර ඇත. අවසාන වශයෙන් අනිච්චාවත සංඛාරා කියන ගාථාවේ සරල දහම් අර්ථය මෙසේය.

මේක අතීත සිද්ධියක් (මළ **මිනියක්) දැකීමෙන් සිහිකරන සිද්ධියක් හා සම්බන්ධයි. පෙර කරපු කාය කර්ම, වචී කර්ම, මනෝ කර්ම දැන් ඒකාන්තයෙන් නෑ හෙවත් ඒ සංඛාර දැන් නෑ. කරපු දේවල්වලින් දැන් හරයකුත් නෑ. උප්පත්තියට ආපු ඒවා දැන් වැය වෙලා ඉවරයි. ඒක තමයි ධර්මතාවය. නැතිවෙලා යනවා. මෙහෙම ස්වභාවයක් ඇති මේ වගේ අත්බවක සැරිසරන්නෙ නැතිව සංසිඳීම සුවයයි.**

මේක මළ මිනී උපමාවකට අරගෙන තමා හා සම කරල බලන **කායානුපස්සනාවට අයිති උපමාවක්. අදත් මළ ගෙවල්වල නිතර මේක ඇහෙන්නේ ඒ නිසයි. හැබැයි හරි අර්ථය වැහිලා. නිවැරදිව උපමාව දකින්නේ මෙහෙමයි. ''මේ මළ මිනිය පෙර යම් සේද, මේ මම වගේ. මම මතු යම් සේද, මේ මළ මිනිය වගේ. ඒ ධර්මතාවය ඒ ස්වභාවය නොඉක්මවා ඇත.'' මහා සතිපට්ඨාන සූත්‍රයේ කායානුපස්සනාවේ පෙන්වා ඇති නවසිවතිකාය නම් කර්මස්ථාන නවයෙන් පළවෙනි කර්මස්ථානය තමයි මළ මිනියක් පළමුව දුටු මොහොත.**

මින් එහාට ගුරුතුමන්ගේ ප්‍රශ්නවලට පිළිතුරු දීමක් හෝ විවේචනාත්මක සංවාදයන්ට ප්‍රති උත්තර දීමක් හෝ කිසිසේත් අපි බලාපොරොත්තු නොවෙමු.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් සමග කළ සාකච්ඡා ඇසුරින් සකස් කළේ :*

**නිතිඥ චන්දන සිරිවර්ධන**

4 වෙනි පිටුවෙන්...

## භාෂා නිරුක්ති සමග පටලවා නොගත යුතු පද නිරුක්ති

මොකෙන් කියන්නද? ඉතින් මේවා අහනකොට ලොකු ප්‍රශ්ණයක් වෙනවා. නමුත් කවද හරි අහන්නත් වෙනවා.

එතකොට ''රජ'' කියන එක කොහොමද භාෂා නිරුක්තියකින් හැදුනේ? **නමුත් බුදු රජාණන්වහන්සේ දුන්න නිරුක්ති ක්‍රමයෙන් නම් ''රජ'' කියන එක තෝරල දීල තියෙනවා, ජනතාව රංජනය කරන හෙයින් රජ කියනවා කියල (අග්ගඤ්ඤ සූත්‍රය).** දැන් තවත් කෙනෙක්, එහෙනම් අපිත් කියන්නම් කියල ජනතාව රවටන හෙයින් ''රජ'' කියනව කියල කියන්න පුළුවන්. කියන්න පුළුවන් තමයි. නමුත් කෝ ගැලපීම? ගැලපෙන්නෙ නෑ. ජනතාව රවටනවනම් ඒ රජෙක් නෙවෙයි, රජෙක් සේ පෙනී සිටින හොරෙක්. විකෘති ඥානය විඤ්ඤාණයයි කියල පද නිරුක්තිය තෝරල දුන්නම තවත් කෙනෙක් අහනවා විශේෂ ඥානයත් විඤ්ඤාණය කියල කියන්න බැරිද කියල. එතකොට විවිධාකාර ඥානවලට විඤ්ඤාණ කියන්න බැරිද කියල මේ ආකාරයෙන් පද ගොඩක් දාල අහනවා. **නමුත් මොකෙන් හරි ඥානයක් නම් ඒක මායාවක් වෙන්න බෑ.** (මජ්. නි. 1, 684 පිටුව - මහා වේදල්ල සූත්‍රය) එතකොට ඒකටත් ගැලපෙන්න එපැයි. **විඤ්ඤාණය මායාකාරයෙක් වගෙයි කියල පෙළ දහමේම පෙන්වල තියෙනව නම්,** එතනටත් ගැලපෙන්න ඕන (සංːනිඃ (3), 240 පිටුව ඵේනුපිණ්ඩූපම සූත්‍රය). ධර්මයට ගැලපෙන්න ඕන. ඒ නිසා එහෙම හිතුමතේට කටට ආපු පලියට වචන කතා කරල බෑ. **යම්කිසි වචනයකට නිරුක්තියක් ආව නම් ඒ ආපු ක්‍රමයත් ගැලපිලා තියෙන්න ඕන.** ඉතින් විවිධ විදියට රටාවල් අල්ලගෙන කියන්න පුළුවන්. නමුත් එහෙම කතා කරපු පලියට අදහස එන්නෙ නෑ. නිරුක්ති ඥානය තියෙනව නම් හරියටම අදහසත් එක්කයි එන්නේ. එහෙම නැතිව **අත්දැකීමෙන් පද නිරුක්ති ගන්න බෑ. ඒක අත්දැකීමට වඩා ඉක්මවා ගිය තැනක්.**

අත්ත ධම්ම නිරුක්තාභිලාපේ ඥානං නිරුක්ති පටිසම්භිදා කියලයි නිරුක්ති ඥානය විග්‍රහ කරන්නේ. මෙහි අභිලාපේ ඥානං කියන්නේ ශ්‍රේෂ්ඨ සහ බාල හෙවත් ධර්ම අධර්ම දකින නුවණයි. **සුගති යහපත් වචනයක් නම් පද හැදෙන්නේ අර්ථ ධර්ම මුල්කරගෙනයි. දුගති අයහපත් වචන නම් අනර්ථ වූ, අධර්ම වූ පද මුල්කරගෙන පද හැදෙන ක්‍රමය දැනගත යුතුයි. එතකොට රජ කියන්නේ පුණ්‍ය ඵලයක්. ඒක අර්ථ ධර්ම මුල්වන අදහස් එකතු වී ගොඩනැගෙනවා. මායාවක් වැනි විඤ්ඤාණය අනර්ථ අධර්ම හෙවත් අවිද්‍යාවෙන් ගොඩනැගෙන නිසා ඒක ඥාන කොටසට ගැනෙන්නෙ නෑ. විකෘති ඥාන කිව්වේ ඒ නිසයි.** ආර්ය විනයේ නිවන් මග සහ නිවන මුල් කරගෙන පහළ වෙන්නේ ඥානයි. අවිද්‍යා මුල් කරගෙන පහළ වෙන්නේ විඤ්ඤාණයි.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

11 වෙනි පිටුවෙන්...

## අපට නොපෙනෙන ලෝකය දහම් ඇසින්...

**පොළවෙන් මෙරු මතු වෙනවා වගේ.**

මේ ඔසුපත් නරකයක තියෙන ගින්න පිළිබඳව එක්තරා අභිඥ්ඤාලාභී ස්වාමීන් වහන්සේ නමකගෙන් උපාසක මහත්මයෙක් විමසනවා, ස්වාමීනි අපාය කියන එක ඔච්චර සැරද, ඇත්තද කියල. උන්වහන්සේට අභිඤ්ඤා බලයක් තිබ්ච්ච නිසා අහනවා, ඔබට ඉතින් ඒ පිළිබඳව දැනගන්න මොනවද කරල පෙන්වන්න ඕන කියල. ස්වාමීනි, මට ඒක තියෙන බව ඔප්පු කරල පෙන්වන්න බැරිද කියල ඒ උපාසක මහත්තය අහනවා. උන්වහන්සේ මේකට ක්‍රමයක් යෙදුවා. ලුණුවරණ කියන්නේ අමු ලී ජාතියක්. තනිකරම වතුර වගෙයි වේලලවත් වැඩකට ගන්න පුළුවන් දෙයක් නෙවෙයි. ලිපකට දැම්මොත් ලිපේ තියෙන අනිත් ගින්දරත් එක්ක නිවිල යනවා. ඔය වගේ ලී යාර ගණනක් ගොඩ ගහන්න කිව්වා. ඊට පස්සෙ අර උපාසක මහත්තයත් ඒ ලී වර්ගය හොයාගෙන ඇවිත් තමන්ගේ උසට වගේ ගොඩක් ගොඩ ගැහුවා. උපාසක මහතාට ඈතට වෙලා බලාගෙන ඉන්න කිව්වා. මං එක දෙයක් කරල පෙන්වන්නම් කියල උන්වහන්සේ අධිෂ්ඨාන කළාම, කණාමැදිරි එළියක් තරම් ප්‍රමාණයක පුංචි උෂ්ණ බිඳක් ඔසුපත් නිරයෙන් ඇදිල ආවා. ඇදිල අර ලී ගොඩට වැටෙනකොටම ඇසිපිය ගහන මොහොතකින් දැවිල අළු වෙලා ගියා. ඒක දරන්න බෑ. පැත්තම දැවිල ගියා. අපායේ ගින්න ඔහොම එකක් කියල උන්වහන්සේ මේ විදිහට උපමාවක් පෙන්නුවා.

දැන් අදත් ඔය කතාව නවීන විද්‍යාවෙන් යම් ප්‍රමාණයකට හෝ නොදැනුවත්ව ඔප්පු වෙලා තියෙනවා. පොළොව යට ලෝහ දිය වෙන්න තරම් අති විශාල උෂ්ණත්වයක් තියෙනවයි කියන කාරණය යම් ප්‍රමාණයකට අද විද්‍යාවත් පිළිඅරගෙන තියෙනවා. වරක් බුදුන් වහන්සේ තපෝදා නදිය තුළින් මතු වූ දිය බුබුළු පෙන්වා, මේ දිය බුබුළු ඔසුපත් නරකයෙන් නැගෙන්නා වූ උෂ්ණයෙන් හටගත් බව පෙන්වා තියෙනවා. මේ දියවැල් ගැන පෙන්වනකොට බොහෝ විට ඔසුපත් නරකය ලඟින් ගලා යන දිය පහරක් පෙන්වනවා. ඒ ඔසුපත් නරකයෙන් නැගෙන පැහෙන ගිනි දාහයෙන් නැගෙන සැර ඔය ආකාරයට ගලාගෙන ගිහින් ඒ අවට තියෙන වතුරත් රත් වෙලා යනවා. එදා බුදුන් වහන්සේ පෙන්වපු මේ කාරණා බොරු කරන්න බෑ. ඒවා ඇත්ත බවට කරුණු එකින් එක අදත් ඔප්පු වීගෙනයි එන්නේ. මේ ආකාරයට පොළොව අභ්‍යන්තරයේ තියෙන්නා වූ විවිධ අපායවල්වල ස්වභාවයන් පිළිබඳව වහරක අභයරතනාලංකාර හිමියන් සමාධියෙන් දුටු විස්තර ඇතුලත් නොපෙනෙන ලොව තවත් කරුණු රැසක් ඉදිරියේදීත් බලාපොරොත්තු වන්න. උන්වහන්සේ දුටු කරුණු සහ බුදු දහමේ පෙන්වපු කරුණු වගේම නවීන විද්‍යා අදහස් ගොනු කිරීමෙනුයි මේ ලිපිය සකස් කළේ.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ 13 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

**ශ්‍රම දායකත්වය** ◆ ධම්මික සේනාධීර මහතා - නෙක්මෝ පරිගණක ආයතනය - මාලබේ. ◆ අසංග මංජුල කුමාර මහතා - හෝමාගම. ◆ සමන් සිල්වා මහතා - නාගොඩ, කළුතර. ◆ ඩී.සී.ආර් ඇක්සස් ලංකා මුද්‍රණාලයේ චන්දිම පෙරේරා මහතා ඇතුලු කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ. ◆ එස්. එම්. ජයසේකර මහතා - මාලබේ. ◆ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය. ◆ ඩබ්. ඒ. තිළිණවතී මහත්මිය - කඩවත. ◆ සොනාලි සමරදිවාකර මෙනවිය - මහරගම. ◆ දිල්හාන් ලියනගේ මහතා - තවලම. ◆ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය ◆ නන් අයුරින් දායක වූ පිංවතුන්

**මූල්‍යමය දායකත්වය** ◆ ජයන්ති අත්තනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - මෙල්බන් නුවර ඕස්ට්‍රේලියාව - රු. 50,000/- ◆ සමන් සිල්වා මහතා - කළුතර - රු. 10,000/- ◆ අමිත් හඳුගොඩ මහතා - අත්තිඩිය - රු. 5,000/- ◆ ඔස්ටින් ප්‍රනාන්දු මහතා, සිසිර සිරිවර්ධන මහතා - පොල්ගහවෙල - රු. 6,000/- ◆ වරුණ සුගතපාල මහතා - ගොතටුව - රු. 5,000/- ◆ සුජීවනී ජයවර්ධන මෙනෙවිය - පාදුක්ක - රු. 5,000/- ◆ මනෝජ් ජයසූරිය මහතා - මහරගම, රංජිත් වික්‍රමසිංහ මහතා - කඩිගමුව, උපුල් විජේනායක මහතා - මාවනැල්ල, පතිරණ විජේතිලක මහතා - හෝකන්දර, චන්දිම ගුණදාස මහතා - මොරටුව, සුජාතා දසනායක මහත්මිය - දෙහිවල, ශාන්ත මාරසිංහ මහතා - දිගන, ශ්‍රී රංජිත්සිංහ මහතා - කැළණිය, ඉසුරු සම්පත් මහතා - කළුතර, වී.එච්. සේනාරත්න මහතා - රඹුක්කන, සුභාෂිනී අබේරත්න මහත්මිය - කඳාන, දුමින්දා සංජීවනී මහත්මිය - නිට්ටඹුව - රු. 7,300/- ◆ නන්ද සුදුසිංහ මහතා ඇතුළු පවුලේ සැම - පානදුර - රු. 2,500/- ◆ අසේල ජයවීර මහතා හා රංගා දිල්රුක්ෂි මහත්මිය - දෙහිඕවිට - රු. 2,000/- ◆ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ◆ මධුභානි කළුවැව මහත්මිය - මාලබේ - රු. 1,000/- ◆ එම්. ඒ. ශිරන්ත මහතා - අතුරුගිරිය - රු. 1000/- ◆ වෙනත් පිංවතුන්ගෙන් ලද පරිත්‍යාග - රු. 700/- ◆ එකතු වූ සියලු මුදල් පරිත්‍යාග - රු. 97,000/- ◆ පිටපත් 5000 ක් සඳහා මුද්‍රණ වියදම - රු. 120,000/- ◆ අනෙකුත් වියදම් - රු. 1,090/- ◆ සම්පූර්ණ වියදම - රු. 121,090/- ◆ මුද්‍රණ කටයුතු සඳහා ගිය හිඟ මුදල සඟරා අලෙවියෙන් පියවා ගන්නා ලදී.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝෂවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විහිදී පැතිරී පිහිටා සුඛිත මුදිත වෙත්වා, සුගතිගාමීව තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා!**

**එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, කරන කියන යහපත් රැකී රක්ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

---

**සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,**
**හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ,**
**අග්ගඤ්ඤ සූත්‍රය, නිරුක්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව,**
**දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ**
**අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද**
**නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත**
**බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.**

---

**පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...**

www.hiddendhamma.net www.nirvanadhamma.com mp3.hiddendhamma.net www.helabodhupiyuma.net

විද්‍යුත් ලිපිනය: webmaster@helabodhupiyuma.net දු.අං:- 071 3046895

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සැම පුන් පොහෝ දිනකම සහ සැම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදානය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව.

ගමන් මාර්ගය: නිට්ටඹුව - රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණු පස.




සැම පුන් පොහෝ දිනකම සහ සැම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා පැවැත්වෙන සදහම් වැඩසටහන් මාලාව සජීවීව විකාශනය කෙරෙන අන්තර්ජාල ගුවන් විදුලි සේවාවට සවන්දීම සඳහා www.waharaka.com වෙබ් අඩවිය ඔස්සේ ''දම් සභා ගුවන් හඬ''ට පිවිසෙන්න.

# නරකාදියෙ ගී

බුර බුර නැගෙන ගිනි ජාලා නිමක් නැත
ඇරගෙන ඇස්වලින් බලනට බියක් ඇත
කරගෙන පව් කඳක් බැඳ ගිනි කයක් වෙත
නිරයෙහි පැසෙන සත ඇත ගිනි ගොඩක් මත

ලෝ දිය ගලයි පෑන් වෙනුවට සතර අතේ
සා බිය නැගෙයි මොනවා කන්නටද සිතේ
කාපිය කියා ලෝ දිය එයි සිරුර මතේ
ආ ගිය ගමන් කිසිවක් දැන් මතක නැතේ

මහා විලාපය රැව් දෙයි එකම ලෙසේ
වහා කය දැවෙයි ගිනි දැල් උසට උසේ
ගුහාවකි යකඩයෙන් සැදි සතර දෙසේ
බහා තැබුවක් සේ ලෝ දියෙහි පැසේ

කා හට කියන්නද හඬ ගා විඳින දුක
නෑ හෙට කියා දින හැම කල් ලෙසම එක
නාහෙට අහන් නැති උන් බුදු බණද දැක
රාගෙට දුවත් මේ හැම කලකටය ටික

නිරයෙන් චුත වුවත් යළි සුගතියක් නැත
තිරිසන් අපායක හෝ යළි උපත් වෙත
සසරින් මහා බය විඳ දිවි ගෙවිත් යත
භවයෙන් මිනු වුවත් අවදානමක් ඇත

ලැබෙන මෙවැනි දඬුවම් හේතුවට පවේ
ගෙනෙන පොදු දමකි වෙනසක් නැතිව ලොවේ
නොගෙන ගණන් හිටියොත් මෙය ලැබුව භවේ
රැගෙන ගොස් මෙසේ යළි යළි ඉපිද දැවේ

පබැඳුම - මිහිඳු චන්ද්‍රන සිරිවර්ධන



# අයාලේ යන දිවි ගමන



දහසක් පැතුම් පොදි බැඳ ගෙන උදෑසන
රහසක් නොමැති ලෝ දම වෙත මුදා කුණ
පහසක් ගන්න නෙක නෙක දෑ හදා ගෙන
දවසක් ගෙවෙනවා සසරේ මැරී ගෙන



එනවා යනව මනු ලොව වෙත දමති හැඩ
දෙනවා බලා ගෙන වැඩි කර ගන්න ගොඩ
මොනවා කළත් සැනසෙන්නට නැතිව ඉඩ
කනවා බොනව පමණකි ඉන් නොමැත වැඩ

කෙළ සොටු මළ මු ද යන දෑ බැහැර කර
බල බල තවත් හොලැබෙන සැප අනත දුර
වළ පල්ලටම යන කල් හිස රැගෙන බර
නොලබා සැනසුමක් උගුලට වැටෙති මර



පිබිදෙන උදෑසන හෙට දීන සුවය පතා
පුද දෙන ගමන් මුනි දෙව් ලෝ සැපද සිතා
ලැබ දෙන ලෙසට මහ මෙර ලෙස ඉසුරු ඔතා
ඉපදෙන වරක් පාසා දෙති මෙවැනි කතා

කණ කැසඹුවකු විය සිදුරෙන් අහස බලා
ලන ලෙස මනු බවක් ලැබුවද නොගෙන එලා
පණ ගිය විටදී මෙතුවක් කල් කරපු මුළා
ගැන සිහි වෙන විටදී කුමටද කඳුළු සලා

පබැඳුම් - නිහිඳු චන්දන සිරිවර්ධන

නිහිඳු චන්දන සිරිවර්ධන විසින් නුගේගොඩ ගංගොඩවිල විහාර පාරේ අංක 96/A දරන ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කර ප්‍රසිද්ධ කරන ලදී